# ශ්‍රී ලංකා ජාතික ගීය

ශ්‍රී ලංකා මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා
සුන්දර සිරිබරිනී, සුරැඳි අති සෝබමාන ලංකා
ධාන්‍ය ධනය නෙක මල් පලතුරු පිරි ජය භූමිය රම්‍යා
අපහට සැප සිරි සෙත සදනා ජීවනයේ මාතා
පිළිගනු මැන අප භක්ති පූජා
නමෝ නමෝ මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා
ඔබ වේ අප විද්‍යා ඔබ ම ය අප සත්‍යා
ඔබ වේ අප ශක්ති අප හද තුළ භක්ති
ඔබ අප ආලෝකේ අපගේ අනුප්‍රාණේ
ඔබ අප ජීවන වේ අප මුක්තිය ඔබ වේ
නව ජීවන දෙමිනේ නිතින අප පුබුදු කරන් මාතා
ඥාන වීර්ය වඩවමින රැගෙන යනු මැන ජය භූමි කරා
එක මවකගෙ දරු කැල බැවිනා
යමු යමු වී නොපමා
ප්‍රේම වඩා සැම භේද දුරැර ද නමෝ නමෝ මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා

අපි වෙමු එක මවකගෙ දරුවෝ
එක නිවසෙහි වෙසෙනා
එක පාටැති එක රුධිරය වේ
අප කය තුළ දුවනා

එබැවිනි අපි වෙමු සොයුරු සොයුරියෝ
එක ලෙස එහි වැඩෙනා
ජීවත් වන අප මෙම නිවසේ
සොඳින සිටිය යුතු වේ

සැමට ම මෙත් කරුණා ගුණෙනී
වෙළී සමගි දමිනී
රන් මිණි මුතු නො ව එය ම ය සැපතා
කිසි කල නොම දිරනා

**ආනන්ද සමරකෝන්**

# පෙරවදන

මනුගුණදම් සුරකින්නට නිති කැපවුණු කුසලතා පිරි මනුෂ්‍ය වර්ගයාට මේ ලෝකය වඩාත් සොඳුරු බිමක් බවට පත් කළ හැකි ය. ඒ සඳහා රටක අධ්‍යාපනය නිරතුරුවම බලසම්පන්න කරගතයුතු වන්නේ අනාගත වැඩලොව පිළිබඳව ද මනා අවදියෙන් සිටිමිනි. දිනෙන් දින විශ්ව ගම්මානය වෙත එක්වන සාරවත් නව දැනුම අපේ ඉගෙනුම් ඉගැන්වීම් ක්‍රියාවලිය සමඟ මුසුකර ගැනීම අනිවාර්යයෙන් සිදුවිය යුතු අතරම අපගේ යහගුණදම් ද ඒ හා ඒකාත්මික කරගන්නට අමතක නොකළ යුතු ය. මෙම සාධනීය ගුණාංග රැකගනිමින් වඩාත් යහපත් සිසු පරපුරක් නිර්මාණය කිරීමේ උත්කෘෂ්ට මෙහෙවරට අවැසි ගුණාත්මක ඉගෙනුම් ආධාරක සම්පාදනය කිරීම අප දෙපාර්තමේන්තුවේ ප්‍රමුඛ පරමාර්ථය බව අවධාරණය කරමි.

නේක විසිතුරු සිත්තම් හා අකුරුවලින් සපිරි මේ පෙළපොත් අනාගත ලොවට මඟ එළි දල්වන ප්‍රදීපස්තම්භ බඳු ය. ඔබ පාසල් බිමෙන් සමුගත් දිනක වුව, තුටින් සිහි කළ හැකි මිහිරි මතක, මේ පාඩම් පොත් පිටු අතර රැඳී තිබෙනු නිසැක ය. ගුරු තරුවල නොමඳ ආලෝකය ලබා ගනිමින් ඔබ මේ දැනුම හා වින්දනය කැටිකළ අනගි ත්‍යාගයෙන් නිසි පල නෙළා ගත යුත්තේ තව තවත් දැනුම් අවකාශ වෙත යුහුසුලුව පියමනිමිනි. රජය පෙළපොත් වෙනුවෙන් වැය කළ අප්‍රමාණ වූ ධනස්කන්ධයට අමිල අගයක් ලබා දිය හැක්කේ පාසල් සිසු දරු දැරියන් වූ ඔබට පමණි. දිවිය වෙත හඹා එන අනේක බාධක දිරියෙන් ජයගෙන, හෙට ලොව සුපුෂ්පිත කරවන්නට දැයේ දරුදැරියන්ට හැකිවේවායි අප්‍රමාණ ස්නේහයෙන් ආශීර්වාද කරන්නෙමි.

පෙළපොත් සම්පාදන ක්‍රියාවලිය වෙනුවෙන් මනා කැපවීමකින් සම්පත්දායකත්වය සැපයූ ලේඛක, සංස්කාරක හා ඇගයුම් මණ්ඩල සාමාජික පිරිවරටත් අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුවේ කාර්ය මණ්ඩලයේ සැමටත් මාගේ හදපිරි ස්තුතිය පිරිනමමි.

**පී. එන්. අයිලප්පෙරුම**
අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් ජනරාල්
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව
ඉසුරුපාය
බත්තරමුල්ල
2020.06.26

## නියාමනය හා අධීක්ෂණය

පී. එන්. අයිලප්පෙරුම - අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් ජනරාල්
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

## මෙහෙයවීම

ඩබ්ලිව්.ඒ. නිර්මලා පියසීලි - අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් (සංවර්ධන)
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

## සම්බන්ධීකරණය

ආර්.ඩී. විජේවික්‍රම - නියෝජ්‍ය කොමසාරිස්
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

## සහාය සම්බන්ධීකරණය

එස්.ජී.ඩී.එන්.එල්. සමරකෝන් - සහකාර කොමසාරිස්
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

## අනුශාසකත්වය

අතිඋතුම් දේව ධර්මාචාර්ය ඔස්වල්ඩ් ගෝමිස් අගරදගුරු හිමිපාණෝ (විශ්‍රාමික)
අතිඋතුම් දේව ධර්මාචාර්ය මැක්ස්වල් සිල්වා රදගුරු හිමිපාණෝ
අතිගරු පියල් ජානක  ප්‍රනාන්දු පියතුමා
ගරු එම්.ජී.එල්. ප්‍රනාන්දු පියතුමා

## සංස්කාරක මණ්ඩලය

ගරු එල්. ප්‍රදීප් කුමාර් නිරෝෂන් ප්‍රනාන්දු පියතුමා - සහකාර කථිකාචාර්ය,
ජාතික අධ්‍යාපන ආයතනය.

පී.ඩී. ෆිලීෂියා අයිරින් - ගුරු උපදේශිකා,
කොට්ඨාස අධ්‍යාපන කාර්යාලය, වත්තල

ගරු මරිය රංගනී පැවිදි සොයුරිය - ගුරු සේවය,
බප/කො/ සියලු සාන්තුවරයන්ගේ බාලිකා විද්‍යාලය, බොරැල්ල.

ගරු. ඒ. ආර්. එල්. ශාන්තිකුමාර් පියතුමා- කථිකාචාර්ය,
ඇක්වයිනාස් විදුහල.

ගරු. එස්. ඇන්ටනි පොන්ෂියන් පියතුමා- සහකාර කථිකාචාර්ය,
ජාතික අධ්‍යාපන ආයතනය.

**ලේඛක මණ්ඩලය**

| | |
|---|---|
| සී. නිර්මලා රත්නායක | - ගුරු සේවය, ශාන්ත පීතර විදුහල, කොළඹ 4. |
| සී. අයිරාංගනි රුද්‍රිගු | - ගුරු සේවය, ශාන්ත ලූසියා ම.වි. කොටහේන, කොළඹ 13. |
| එම්. පී. ඩබ්. ඩබ්. ශ්‍යාමලී පීරිස් | - ගුරු සේවය, පිලපිටිය ම. වි., කැලණිය. |
| ටී.ජේ. පෝල් ඇන්ටනි | - විශ්‍රාමික විදුහල්පති |
| ඒ. කේ. එස්. ඒන්ජල් | - ගුරු සේවය (විශ්‍රාමික) |

**භාෂා සංස්කාරක**

| | |
|---|---|
| රංජිත් ඉලුප්පිටිය | - නියෝජ්‍ය කොමසාරිස්, අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව |

**චිත්‍ර**

| | |
|---|---|
| කේ. ඒ. එස්. කළුබෝවිල | - කථිකාචාර්ය, හාපිටිගම ජාතික අධ්‍යාපන විද්‍යාපීඨය, මීරිගම. |

**පිටකවරය**

| | |
|---|---|
| ඩබ්ලිව්. පී. සුසිල් ජයශාන්ත පෙරේරා | - චිත්‍ර ශිල්පී |

**පරිගණක අක්ෂර සංයෝජනය හා පිටු සැලසුම්කරණය**

| | |
|---|---|
| එල්. ඒ සඳුනි නිලංකා පත්මසිරි | - පරිගණක සහායක, අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව |

# පටුන

# 1 කිතුනු දරුවා දේව තිළිණයකි

ජේසුස් වහන්සේ අපට හමු වන විශේෂ අවස්ථා හතක් පහත දක්වේ. ඒවාට අපි දේව ප්‍රසාද නිධාන කියා කියමු.

1. ප්‍රසාද ස්නාපනය



7. රෝගීන්ගේ ආලේපය



2. සමගි වීමේ ප්‍රසාද නිධානය





6. ආශීර්වාදකාර බන්ධනය



3. දිව්‍ය සත්ප්‍රසාදය



5. පූජකවරය



4. අභිවෘද්ධි ආලේපය



1.1 රූපය - දේව ප්‍රසාද නිධාන හත

පවන් සහ ඔහුගේ මව, විශ්ව පුතාගේ ක්‍රිස්තියානියට සහභාගි වී නිවස බලා යන අතර;

**පවන් :** මට නම් අද හරි ම සතුටුයි, අම්මේ. හෙට අපේ ආගම පාඩමට කියා දෙන්න නියමිතව තිබෙන්නෙත් දේව ප්‍රසාද නිධාන 7න් පළමු ප්‍රසාද නිධානය ගැනයි.

**අම්මා :** එහෙම නම් විශ්වගේ ප්‍රසාද ස්නාපනය ලැබීම ඔයාට හොඳ අත්දැකීමක් වෙන්න ඇති.

**පවන් :** ඇයි අම්මේ විශ්ව මල්ලිගේ හිසට තුන් වරක් ම වතුර වත්කළේ?

**අම්මා :** එයින් අපව පිතා පුත්‍රයා ශුද්ධාත්මයාණන්ගේ නාමයෙන් ජන්ම පාපයෙන් සෝදා හරිනවා.



1.2 රූපය - හිසට ජලය වත්කිරීම



1.3 රූපය - ශුද්ධ වූ තෛලය ආලේප කිරීම

**පවන් :** එතකොට අම්මේ විශ්ව මල්ලිගේ නළල මත ආලේප කළේ මොනවා ද?

**අම්මා :** ඒ තමයි පුතේ ශුද්ධ වූ තෛලය. මෙමගින් අපට ශුද්ධාත්ම වරම් ලැබෙනවා.

පවන් : විශ්ව මල්ලිට සුදු රෙද්දක් පලඳවනවාත් දැක්කා. පල්ලියේ තිබෙන ලොකු පාස්කු ඉටි පහනින් ඉටිපන්දම් දල්වා ගන්නවාත් දැක්කා. අම්මේ ඒ හැම දෙයක ම තේරුමක් තියෙනව ද?


1.4 රූපය - සුදු වස්ත්‍රය ඇන්දවීම


1.5 රූපය - ඉටිපහන දැල්වීම

අම්මා : ඔව් පුතේ! සුදු රෙද්ද පැලඳවීම තුළින් පිරිසිදුකම සලකුණු කරනවා. පාස්කු ඉටිපහනින් ඉටිපන්දම් දල්වා ගැනීම තුළින් ක්‍රිස්තුන් වහන්සේ විසින් එම දරුවා ආලෝකවත් කරනු ලබනවා.

පවන් : දේව දරුවන් වීම නිසා අපි හරි වාසනාවන්තයි නේ ද අම්මේ?

අම්මා : ඔව් පුතේ, අපි හැමෝ ම හරි වාසනාවන්තයි.

**ප්‍රසාද ස්නාපනයෙන් අපට ලැබෙන වරප්‍රසාද**

- දේව දරුකම ලැබීම
- ජන්ම පාපයෙන් නිදොස් වීම
- නොමැකෙන ලාංඡනයක් ලැබීම
- අනෙකුත් ප්‍රසාද නිධාන ලබා ගැනීමේ හැකියාව හිමි වීම
- ශුද්ධ වූ සභාවේ සාමාජිකත්වය ලැබීම
- ස්වර්ග රාජ්‍යයේ හිමිකරුවකු වීමේ භාග්‍යය ලැබීම

**ජේසුස් වහන්සේ බෞතිස්ම ස්නාපනය කළ අවස්ථාවේ දෙවි පියාණන් පැවසූ වදන්**

"ඔබ මාගේ ප්‍රියාදර පුත්‍රයාණෝ ය; ඔබ කෙරේ ඉතා ප්‍රසන්න වී සිටිමි"(මාක් 1 : 11)



යාච්ඤාව

ආදර දෙවි පියාණෙනි, අද දින ප්‍රසාද ස්නාපනය තුළින් විශ්ව මල්ලි දේව දරුවකු කර ජේසුස් වහන්සේ හමුවන්නටත් උන්වහන්සේගේ ආදරය ලබා ගන්නටත් සලස්වා දුන්නාට ඔබ වහන්සේට ස්තුති ප්‍රශංසා කරමු.

ආමෙන්.

පැවරුම

① ප්‍රථම වරට ලබන දේව ප්‍රසාද නිධානය නම් කරන්න.

② පහත සඳහන් චිත්‍රවලට ගැළපෙන වාක්‍ය වරහන් තුළින් තෝරා අභ්‍යාස පොතේ ලියන්න.

(1)




(2)



(3)



(4)



(පාපය සෝදා හැරීම, ශුද්ධාත්ම වරම් ලැබීම, පිරිසිදුකම සලකුණු කිරීම, දේව දරුවා ආලෝකවත් කිරීම)

# 2 සමගි වීමේ දේව ප්‍රසාද නිධානය

සමගි වීමේ දේව ප්‍රසාද නිධානය, දේව ප්‍රසාද නිධාන හතෙන් එකකි. මෙම ප්‍රසාද නිධානය මගින් අප කළ පව්වලට සමාව දානය කෙරේ.

සමිඳාණන් වහන්සේ උත්ථාන වූ දින සවස පව් කමා කිරීමේ බලය අපෝස්තුලුවරුනට පවරා දෙමින් පැවසූ වචන පහත සඳහන් වේ.

ශුද්ධ වූ ජුවාම් 20 : 23
"ඔබ යමෙකුගේ පව් කමා කරන්නෙහු ද ඒවා ඔවුන්ට කමා කරනු ලැබේ. ඔබ යමෙකුගේ පව් කමා නොකරන්නේ ද ඒවා ඔවුන්ට කමා නොකරනු ලැබේ."

අපෝස්තුලුවරුන් මගින් පව් කමා කිරීමේ බලය ලබා තිබෙන පියතුමා අද අපට පව් සමාව ලබා දෙයි.

**සමගි වීමේ දේව ප්‍රසාද නිධානයට කියන වෙනත් නම්**

- ★ පාපෝච්චාරණය
- ★ කොම්සම් කිරීම
- ★ සමගි සන්ධානයේ ප්‍රසාද නිධානය
- ★ පව් කමාවේ ප්‍රසාද නිධානය
- ★ නැවත මිත්‍ර වීමේ ප්‍රසාද නිධානය

පළමු වරට දිව්‍ය සත්ප්‍රසාදය ලබා ගැනීමට පෙර සමගි වීමේ දේව ප්‍රසාද නිධානය අප ලබා ගත යුතු ය. එසේ ම ඉන් පසුව අප අතින් වරදක් සිදු වූ සැම අවස්ථාවක දී ම සමගි වීමේ දේව ප්‍රසාද නිධානය ලබා ගත යුතු ය.

පාපෝච්චාරණයට පෙර

පාපෝච්චාරණයට පසු



2.1 රූපය - පාපෝච්චාරණයට පෙර හා පසු අවස්ථා කිහිපයක්

පාපය යනු දේව කැමැත්තට පිටුපා යෑමකි. දස පනත කඩ කිරීමකි. සිතින්, වචනයෙන්, ක්‍රියාවෙන් හා අතපසු කිරීමෙන් ද අප අතින් පව් සිදු වේ. පාපයට මුල් වන මුල් අගුණ පව් 7කි.
ඒවා නම්;

1. උඩගුකම
2. තණ්හාව
3. රාගය
4. ක්‍රෝධය
5. කෑදරකම
6. ඊර්ෂ්‍යාව
7. අලසකම

පාපය නිසා අප දෙවියන් වහන්සේගෙන් ඈත් වේ. එසේ ඈත් වන අප නැවත දෙවියන් වහන්සේ වෙත ළඟා කෙරෙන්නේ සමගි වීමේ දේව ප්‍රසාද නිධානය මගිනි.

යහපත් පාපෝච්චාරණයක් කිරීම සඳහා වැදගත් ම දේ වන්නේ තමා කළ පව් සිහි කර ඒවාට අවංකව මනස්තාප වීම ය.

**සමගි වීමේ දේව ප්‍රසාද නිධානය ලබා ගැනීමට සූදානම් වන අයුරු:**



**සමගි වීමේ දේව ප්‍රසාද නිධානය ලබා ගැනීම මගින් අපට ලැබෙන වරප්‍රසාද**

- දේව සබඳතාව ඇති වීම
- කළ පව්වලට සමාව ලැබීම
- ආත්මික සාමය හා නිදහස ලැබීම
- ප්‍රීතිය ඇති වීම
- යහපත් ජීවිතයක් ගත කිරීමට හැකියාව ලැබීම



යාච්ඤාව

දෙවි පියාණෙනි, සිතින්, වචනයෙන්, ක්‍රියාවෙන් අතපසු කිරීමෙන් කරන ලද වැරදි සියල්ල වටහාගෙන පාප අවස්ථාවන්ගෙන් ඈත් වී දිවි ගෙවන්නට අපට වරම් දුන මැනව.

ආමෙන්.



පැවරුම

(1) ජේසුස් වහන්සේ පව් කමා කිරීමේ බලය මුලින් ම දානය කළේ කාට ද?

(2) මෙම ශුද්ධ ලියවිලි පාඨයේ හිස් තැන් පුරවන්න.

"ඔබ .................... පව් කමා .................... ඒවා ඔවුන්ට .................... කරනු ලැබේ. ඔබ යමෙකුගේ .................... කමා නොකරන්නේ ද ඒවා ඔවුන්ට කමා .................... ලැබේ"

(3) පහත (අ) කොටසින් දැක්වෙන අවස්ථාවල දී කිතුනු දරුවකු ලෙස ඔබ ක්‍රියා කරන අන්දම (ආ) කොටසින් තෝරා යා කරන්න.

| (අ) | (ආ) |
|---|---|
| ★ කොන් කරන ලද මිතුරකු දුටු විට | ★ කෑම දීම |
| ★ නොකළ වරදකට දඬුවම් ලැබෙන විට | ★ වරදින් මුදා ගැනීම |
| ★ සතුන්ට වරදක් කරන යහළුවකු දුටු විට | ★ ඉවසා ගැනීම |
| ★ බඩගින්නේ සිටින යහළුවකු දුටු විට | ★ මිතුරු වීම |

**ක්‍රියාකාරකම**

කට පාඩම් කරන්න.

**පව් සමාවේ දේව ප්‍රසාද නිධානය ලබා ගැනීමේ පියවර**

1. පියාණන්ගේ ද පුත්‍රයාණන්ගේ ද ශුද්ධාත්මයාණන්ගේ ද නාමයෙන්, ආමෙන්. පියාණෙනි, පව්කාර වූ මට ආශීර්වාද කළ මැනව.
2. මේ මාගේ පළමුවන පාපෝච්චාරණයයි.

   (පව් පියතුමාට කීම)
3. පියාණෙනි, මතක ඇති පව් මෙපමණයි. මේවාටත් මතක නැති පව්වලටත් සමාව හා දඬුවම් දුන මැනව.

   (පියතුමා දෙන දඬුවම් හා ඔවදන්වලට හොඳින් සවන් දීමෙන් පසු) දයාධික මනස්තාපන යැදුම උච්චාරණය.
4. පියාණන්ගේ ද පුත්‍රයාණන්ගේ ද ශුද්ධාත්මයාණන්ගේ ද නාමයෙන්, ආමෙන්. ස්තුතියි පියාණෙනි, ජේසු පිහිටයි!

# 3 මගේ හදට වඩින ජේසුස් වහන්සේ

පරලෝකේ මන්නාවෙනි
ජීවිත දායකයාණනි
අනන්ත වූ ප්‍රේමයෙනි
වඩිනු මාගේ ජේසුනි



3.1 රූපය - අන්තිම රාත්‍රි භෝජනය

"මේ මාගේ ශ්‍රී ශරීරයයි. මා සිහි කිරීම පිණිස මෙය සිදු කරන්න....."
(ශු. ලූක් 22:19)

**පියතුමා :** දරුවනේ, මේ චිත්‍රය කලින් දැකලා තියෙනවා ද? මේ කියමන ඔබ අසා තිබෙනවා ද?

**ළමයා :** ඔව් පියතුමනි, ජේසු සමිඳුන් අන්තිම රාත්‍රි භෝජනය පවත්වන චිත්‍රය නේ ද?

**පියතුමා :** අන්න හරි දරුවනේ, ඒ තමා ජේසුස් වහන්සේ පළමු වරට දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ ස්ථාපිත කළ ආකාරය. එදා අපට උතුම් ම දවසක්. ජේසු සමිඳුන් එදා දැන හිටියා ඒ තම අවසන් රාත්‍රි භෝජනය වන බව. ඒත් ජේසු සමිඳුන් අප තනි නොකර සැම දා අප සමග සිටින්නට තීරණය කළා.

ළමයි : ඒ කොහොම ද පියතුමනි?

පියතුමා : එහෙම කළේ සුදෝ සුදු පූපය ඔසවා **"මේ මාගේ ශ්‍රී ශරීරයයි. මෙය ගෙන අනුභව කරන්න"** යනුවෙන් පවසමින් ජේසු සමිඳුන් ජීවමානව සුදු පූපය වෙතට වැඩම කිරීමෙන්.

ළමයි : පියතුමනි, අද කොහොම ද ජේසු සමිඳුන් අප සමග වැඩ සිටින්නේ?

පියතුමා : දරුවනේ, ජේසුස් වහන්සේ අපට තියෙන ආදරය නිසා තමයි කුඩා පූපයක් තුළින් අප තුළට එන්න කැමති වුණේ. අද දිව්‍ය පූජාවේ දී මා පවසන ආශීර්වාද වචනවලින් පූප හා මිදිරස ක්‍රිස්තුන් වහන්සේගේ ශ්‍රී ශරීරය හා ශ්‍රී රුධිරය බවට හැරෙනවා.

ළමයි : ඉතින් පියතුමනි, අපි හැමෝම ජේසු සමිඳුන් ලබා ගන්න ආසයි. ඒ වෙනුවෙන් අපි මොනවා ද කරන්න ඕනෑ?

පියතුමා : ඔව් දරුවනේ, ජේසු සමිඳුන් ජීවමානව ඔබගේ හදවත තුළට වඩින්න හරි ආසාවෙන් බලා ඉන්නවා. අපි සමගි වීමේ දේව ප්‍රසාද නිධානය ලබා පිරිසිදු හදවතකින් ජේසු සමිඳුන් ලබා ගැනීමට සූදානම් විය යුතුයි. ඒ බව ශුද්ධ වූ පාවුලු තුමා මෙසේ ලියා තිබෙනවා.

1 කොරෙන්ති 11:27-30
"සැබැවින් ම මේ රොටි වැළඳීමටත් මේ කුසලානයෙන් පානය කිරීමටත් පෙර එක් එක්කෙනා තමා සෝදිසි කර ගත යුතු ය.

**ළමයි :** පියතුමනි, අපි ජේසු සමිඳුන් ලබා ගත් පසු මොක ද වෙන්නේ?

**පියතුමා :** පුතේ, දුවේ, ජේසු සමිඳුන් අපේ ජීවිතයට, ශරීරයට සම්බන්ධ වෙනවා. දැන් ඔයා තනි වෙලා නෑ. ඔවුන් වහන්සේ ඔබ හරි මග යවනවා, නපුරෙන් ගලවා ගන්නවා. එම නිසා ඔබ තුළ ඉන්න ජේසු සමිඳුන් හොඳින් හඳුනා ගෙන අන් අයටත් උන්වහන්සේ හඳුන්වා දෙන්නට උත්සාහ කරන්න.



3.2 රූපය - දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ දානය කිරීම

**දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ ලැබීමට පෙර සූදානම් විය යුතු ආකාරය**

- පව්වලට සමාව ලබා ගැනීම
- සැම ඉරුදින ම හා හැකි සැම විට ම පිරිසිදුව දිව්‍ය පූජාවට සහභාගි වීම
- දිව්‍ය පූජාවට පෙර පැයක්වත් නිරාහාර ශීලය රැකීම
- පෞද්ගලිකව දිනපතා ම යාච්ඤා කිරීම
- ගෞරවයෙන් ජේසුස් වහන්සේ ලබා ගැනීම



යාච්ඤාව

ආදර ජේසු සමිඳුනි, පුංචි අපේ හදවත් තුළට ආදරයෙන් වැඩම කිරීම ගැන අපි ඔබ වහන්සේට තුති පුදමු. යහපත් දරුවන් ලෙස ඔබ වහන්සේට කීකරුව ජීවත් වීමට අපට පිහිට වුව මැනව.

ආමෙන්.



පැවරුම

① දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ ලබා ගැනීමට නිසි ලෙස සූදානම් වීම සඳහා යාච්ඤාවක් ලියන්න.

② දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ තුළින් ඔබ වෙතට වඩින ජේසු සමිඳුන් වෙනුවෙන් ඔබට කළ හැකි දෑ පහත වගුවෙහි සටහන් කරන්න.

| | |
|---|---|
| නිවසේ දී | |
| පාසලේ දී | |
| දහම් පාසලේ දී | |

**ක්‍රියාකාරකම**

① පහත සඳහන් මාතෘකා පුංචි පොතක ලියා එම පොත **ආත්මික මල් පොකුර** ලෙස නම් කරන්න. මෙම මාතෘකාවලින් කියවෙන දේ ඔබ ඉටු කරන සෑම විට ම ඉදිරියෙන් තරුව බැගින් අලවන්න. මෙම වසරේ දී ඔබ ප්‍රථම වරට දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ ලබන දින මරිය තුමියගේ සුරුවම පාමුල තබන්න.

1. දිව්‍ය පූජාවට සහභාගි වූ වාර ගණන
2. පවුලේ ජපමාලය කියන ලද වාර ගණන
3. මර්දන ක්‍රියා කළ වාර ගණන
4. යහපත් ක්‍රියා කළ අවස්ථා ගණන
5. ලුහුඬු යැදුම් කියන ලද අවස්ථා ගණන (උදහරණ :- "ජේසුනී මම ඔබට ආදරෙයි" යනාදි වැකි සාදා කීම)

# 4 වගකීම් ඉටු කරමු



උදෑසන ම කවුළු දොරින් - ආවා හිරු රැස් බිඳක්
කුරුල්ලන්ගෙ නාද තුළින් - කීවා තොරතුරු බිඳක්
සිසිල් සුළං හමා යමින් - සැනසුවා ගත සිත බිඳක්
දක්නට ලැබුණා සතුටින් - හරි ලස්සන ලොව බිඳක්

අලුත් දිනක් උදා කළේ - අප දෙවි සමිඳුන් තමයි
මෙදින අපේ වැඩ සියල්ලේ - හිමිකරු එතුමන් තමයි
සතුට මෙන් ම දුක් කරදර - බාර ගන්නේ සමිඳුමයි
ආසිරි ලැබූ අප සැම දෙන - තුති දෙන්නෙත් එතුමටයි

දසමස මා කුසේ දරා - මා හැදුවේ මගෙ මවයි
තුරුලෙ හොවා නැළවූවේ - මට ඇති සෙනෙහස නිසයි
නොයෙකුත් බාධක බිඳලා - රැක ගත්තේ මගෙ මවයි
ඇය රෝගාතුර වූ විට - බලා ගන්නෙ මා තමයි

කරදර මැද වෙහෙස දරා - මා ඇති දැඩි කළේ පියයි
දහඩිය හෙළමින් සැම දා - මා බැලුවේ මගේ පියයි
නෑ නොකියා බෑ නොකියා - හොඳ දේ මට දුන්නෙ පියයි
මහලු වයසේ බැරිවූ විට - ඔහු හට අත දෙන්නෙ මමයි

වැරදි මඟක නොයා සිටිමු - මවුපියනට අවනත වෙමු
ගරු කරමූ කීකරු වෙමු - මවුපිය සිත් සතුටු කරමු
පැකිළීමක් නොදක්වමූ - දෙපා නැමැද සහාය වෙමූ
දෙමාපියන් අපට දුන්නු - දෙවි පියාට තුති පුදමූ

අක්කා අයියා දෙස බලලා - හොඳින් ඉගෙන ගන්න බලමු
නංගි මල්ලි රැක බලලා - ඉගෙන ගන්න උදවු කරමු
ගෙදර වැඩට උදවු වෙලා - කීකරු හොඳ දරුවන් වෙමු
යහපත් දරුවන් වීලා - දෙවිපියාව සතුටු කරමු

පාසල වෙත පිය නඟමූ - පන්තිය පිරිසිදු කරමූ
දැනුම ලබා ගන්න බලමු - හොඳ දරුවන් ලෙස සිටිමූ
දුබල අයට කියා දෙමූ - හැකියාවන් බෙදා ගනිමු
අනාගතය සරු කරමූ - මතුවට රට රැක ගනිමූ

දුවමින් සෙල්ලම් කරමූ - පිත්තෙන් දස්කම් මවමූ
උඩඟුව දුරුකර ගනිමූ - ජය පැරදුම භාරගමු
ගුරු සිත් සැම නොරිදවමූ - ගුණවත් හොඳ ළමයින් වෙමු
සමිඳු සවිය ලබා ගනිමු - දෙවිඳුන් හට තුති පුදමූ

**පාඩම් කරන්න. දිනපතා කියවන්න.**

ආදර දෙවි පියාණෙනි, නිවසේ දීත් පාසලේ දීත් සැම තැනක දීත් වගකීම් හොඳින් ඉටු කරන යහපත් ළමයකු වීමට අවශ්‍ය වරම් අපට ලබා දෙන්න.



## පැවරුම

(1) i පළමු සහ දෙවන කව්වලින් පෙන්වා දෙන පරිදි දෙවි පියාණන් වහන්සේ අපට ලබා දුන් දේවල් නම් කරන්න.

ii උදෑසන අවදි වූ විට මහෝත්තම දෙවි පියාණන් වහන්සේට තුති දීමේ කුඩා යාච්ඤාවක් ලියන්න.

(2) නිවසේ දී ඔබගේ පවුලේ අය වෙනුවෙන් කළ හැකි යහපත් දේවල් **තුනක්** ලියා දක්වන්න.

## ක්‍රියාකාරකම

1. තම පන්ති කාමරය පිරිසිදුවට තබා ගැනීම සඳහා කළ යුතු දේ පිළිබඳ පෝස්ටරයක් නිර්මාණය කර පන්ති කාමරයේ ප්‍රදර්ශනය කරන්න.
2. කවි පන්තියේ සිත් ගත් අවස්ථාවක් චිත්‍රයට නගන්න.
3. කවි පන්තියෙන් ගත හැකි හොඳ ගුණාංග **පහක්** කාඩ්පතක ලියා පන්ති කාමරයේ ප්‍රදර්ශනය කරන්න.

# 5 දස්කම් විස්කම් සමගින් දෙව්පියාට තුති දෙමු

දෙව් සමිඳුන් අපහට දුන්
තිළිණයකි මේ ජීවිතේ
අප හැකිකම් - අප සුරුකම්
පිණිස යොදවමු ජන සේවේ

අපේ ආදර දෙව් පියාණන් වහන්සේ අප සියලු දෙනා මවා තිබෙන්නේ විවිධ හැකියා, දක්ෂතා බොහොමයක් සමගයි. ඒ අදහස තමයි ඉහත ගීතිකාවේ තිබෙන්නේ. අපි බලමු මොනවා ද මේ අපේ හැකියා හා දක්ෂතා කියලා. ඒ වගේ ම කොහොම ද අපි ඒ දක්ෂතා අන් අයගේ ප්‍රයෝජනය සඳහා යොදා ගන්නේ කියලා.

සුමුදු : ලෝකය මැවූ දෙව් පියාගේ - ආදරයේ කතන්දරේ
හැමෝ ම ඉදිරියේ කියන්න - මාව තේරුණා

සුවිනි : ලස්සන අත් අකුරුවලින් - දෙව් පියාගේ මහිමය ගැන
තව තව විස්තර ලියන්න - මටත් හැකි වුණා

සුමල් : ගැයූ ගීතය මවිත කළා - රැස් වී සිටි මුළු සභාව
වයලීනය, බටනළාව - රැව්පිළිරැව් දුන් වෙලාව

සුරනි : උස, දුර පනිමින් දස්කම් මවමින්
අප සැම ඉන්නේ සැම දා සතුටින්

සුගත් : කොළ කපලා මල් හදලා - හැඩ කෙරුවා ගුරු මේසේ
වතුර දමා මැටි අනලා - නිම කෙරුවා සෙල්ලම් ගේ

සුදිනි : සාක්කුවට මලක් මැසුවා - පුංචි මගේ ඒප්‍රනේ
සියලු දෙනා සතුටු වුණා - අපෙ හැකියා දුටුව සැණේ

සුමිත් : යන යන සැම තැන ජය ගොස නගමින්
පෙන්වමු කිතුගුණ දහමේ බලයෙන්

සියලු දෙනා : අඹන්න, නෙළන්න, කැටයම් කපන්න
දුවන්න, පනින්න, නටන්න, ගයන්න
දුන් මේ හැකියා බොහොමය සමගින්
තුති දී පසසමු අපේ පිය දෙවිඳුන්



5.1 රූපය - විවිධ හැකියා දක්වන ළමුන් පිරිසක්



**යාච්ඤාව**

**ආදර දෙවි පියාණෙනි, ඔබ වහන්සේ මට දුන් හැකියා, දක්ෂතාවලට ස්තුතියි. ඒ හැම හැකියාවක් ම හඳුනා ගෙන අන් අයගේ යහපත සඳහා යොදා ගන්න මට පිහිට වුව මැනව.**

**ආමෙන්.**



පැවරුම

1. පාඩමේ සඳහන් දෙබස් තාලයට ගායනා කරන්න. ගැළපෙන අංග චලන යොදා ගන්න.
2. පාඩමේ සඳහන් වන පරිදි දරුවන් තුළ තිබූ හැකියා, දක්ෂතා ලැයිස්තුවක් ලියන්න.
3. පෙති පහක ලොකු මලක් අඳින්න. මලේ මැද ඔබේ නම ලියන්න. පෙතිවල ඔබ ලද හැකියා වෙන් වෙන්ව ලියන්න. ළා වර්ණයකින් මල පාට කරන්න.
4. දෙවි පියාණන් වහන්සේගෙන් ඔබ ලද හැකියා හා දක්ෂතා වෙනුවෙන් ස්තුති කර පුංචි යාච්ඤාවක් ලියන්න.

**ක්‍රියාකාරකම**

ඉවත දමන දේවල් (හිස් ප්ලාස්ටික් බෝතල්, පොල් කුඩු, ලූනු පොතු වැනි) උපයෝගී කරගෙන බිත්ති සැරසිල්ලක් නිර්මාණය කර පන්තිය අලංකාර කරන්න.

# 6 සාකෙවුස්ගේ සිත් හැරීම

ජේසුස් වහන්සේ ජෙරිකෝව බලා පිටත් වෙයි.



සාකෙවුස් ජේසුස් වහන්සේ බැලීමට අත්තික්කා ගසට නගියි




සාකෙවුස් ගහෙන් බිමට බසියි.




සාකෙවුස් ප්‍රීතියෙන් ජේසුස් වහන්සේ තම ගෙදරට පිළිගනියි.









යහපත් ගුණ ධර්ම ඉගැන්වූ ජේසුස් වහන්සේ ඒවා ක්‍රියාවට නැංවූ බව ඉහත සිද්ධිය මගින් පෙනී යයි. සමාජයෙන් කොන් කළ සාකෙවුස්ට ජේසු සමිඳුන් දක්වූ ආදරය නිසා ඔහු සම්පූර්ණයෙන් ම වෙනස් මිනිසෙක් විය.

දුවේ, පුතේ, අපිත් කිසි කෙනෙක් කොන් නොකළ යුතු වෙමු. ජේසු සමිඳුන් කොන් වෙලා සිටි අය ආදරයෙන් පිළිගත්තා වගේ අපිත් සියලු දෙනා ම ආදරයෙන් පිළිගනිමු.



**යාච්ඤාව**

ආදර දෙවි පියාණෙනි, මගේ ම පංතියේ මගේ ම පවුලේ විවිධ හේතූන් මත කොන් වී සිටින අය සොයා ඔවුනට ආදරය කිරීමට මට ශක්තිය දුන මැනව.

ආමෙන්.



**පැවරුම**

මෙය අභ්‍යාස පොතේ පිටපත් කර ගන්න.

(1) පහත වැකි හරි නම් රතුපාට මලක් ද වැරදි නම් කළුපාට මලක් ද කොටුව තුළ අඳින්න. පාට කරන්න.

i. ජේසුස් වහන්සේ පව්කාරයන්ට ආදරය කළ සේක. ☐

ii. සාකෙවුස් ජේසුස් වහන්සේ දැක බලා ගැනීමට ආශා විය. ☐

iii. අපි හැම විට ම දක්ෂ පොහොසත් අය පමණක් ඇසුරු කළ යුතු වෙමු. ☐

iv. පන්තියේ සිටින හැම දෙනා ම මගේ යහළුවන් කර ගත යුතු ය. ☐

v. ජේසුස් වහන්සේ සාකෙවුස්ගේ ජීවිතය වෙනස් කළ සේක. ☐

(2) සකෙවුස්ගේ සිත් හැරීමෙන් අපගේ ජීවිතයට ගත හැකි ආදර්ශ දෙකක් ලියන්න.

# 7 මහා කාරුණික දෙවි පියාණෝ

පහත සඳහන් වන්නේ කරුණාවන්ත පියාගේ උපමා කතාවයි.
(ශු. ලූක් 15:11-32)

1



එක් මිනිසකුට පුතුන් දෙදෙනෙක් සිටියෝ ය. බාල පුතා, "පියාණෙනි, ඔබගේ දේපළවලින් මට අයිති කොටස දුන මැනව,"යි පියාට කීය. පියා තම දේපළවලින් කොටසක් ඔහුට දුන්නේ ය.

2



බාල පුතා දුර රටකට ගොස් මිතුරන් සමග එක් වී තම දේපළ නාස්ති කළේ ය.

3



තමා සතු මුදල නැති වූ විට මිතුරෝ ඔහු අතහැර දමා යන්නට වූහ. ඔහු තනි විය.

4



ආහාර සහ ඇඳුම් නොමැතිව ඉතා අසරණ වූ ඔහුට සිදුවූයේ ඌරන් බලා ගනිමින් ඌරන්ට දෙන කෑමවලින් බඩගින්න නිවා ගැනීමට ය.

5



තමාගේ වැරදි තේරුම් ගත් ඔහු දුක් වී නැවත තම පියා වෙත හැරී ගියේ ය. ඔහු පියා වෙත ගොස් සමාව ඉල්ලීමට පෙර පියා ඔහු ආදරයෙන් සිප වැලඳගෙන භාර ගත්තේ ය.

6



බාල පුතා පැමිණි සතුටට තම පියා සාදයක් සූදානම් කර ඇති බව දැනගත් වැඩිමල් පුතා කෝප විය.

7



ලොකු පුතා කැඳවූ පියා, "මා සතු සියල්ල ඔබ සතු ය. එහෙත් අද අප ප්‍රීති වන්නේ ඔබේ මල්ලී මැරී සිට නැවත ජීවත් වන නිසා ය" යැයි පවසමින් ඔහු සැනසුවේ ය.

මෙම උපමා කතාවෙන් දෙවි පියාගේ ආදරය අපට පැහැදිලි වෙනවා. අප පව් කර ඇත් වෙන සෑම විට ම දෙවිපියා දුක් වෙනවා. අප වැරදි පිළිගෙන හැරී එන තුරු දෙවිපියා බලා සිටිනවා. ඒ නිසා අපි ඉක්මනින් අපේ වැරදි හඳුනා ගෙන දෙවිපියා සතුටු කරමු.



**යාච්ඤාව**

**අබ්බා පියාණෙනි, පව්කාර වූ මට සමාව දුන මැනව. මාගේ වැරදි පිළිගනිමින් ආදරයෙන් ඔබ වෙත නැවත හැරී ඒමට අවශ්‍ය නිවැරදි මග පෙන්වීම මට දානය කළ මැනව.**

**ආමෙන්.**



**පැවරුම**

① පහත වචන නිවැරදිව ගළපා වාක්‍ය තනන්න.

i. විට ම / අපි / දෙමු / අන් / අයට / සමාව / සෑම

ii. කළේ ය / බාල පුතා / නාස්ති / සියලු / තාත්තාගේ / දේපළ

iii. පුතා / තාත්තා / නැති වූ / සිටියේ ය/ යළිත් / මඟ බලා / එනතුරු

② කරුණාවන්ත පියාගේ උපමා කතාව රඟ දක්වන්න.

# 8 මහෝත්තම දෙවි පියාණන් වහන්සේට කතා කරමු




8.1 රූපය - යාච්ඤා කිරීමේ අවස්ථා කිහිපයක්

පහත කවි තාලයට ගායනා කරන්න.

උදේ අවදි වූ විට දී - කෑම ගැනීමට පෙර දී
පාසල වෙත යන විට දී - ඉගෙනුම් කටයුතුවල දී
ක්‍රීඩා කරනා විට දී - ලෙඩ දුක් කරදරවල දී
දෙව් විමනට ගිය විට දී - මා කරනා යැදුමන් සැම
**පෞද්ගලික යාච්ඤාව** - ලෙස නම් කරමි //

පවුලක් ලෙස එකමුතු වී - ජපමාලය කියමු අපි
දුකේ දි මෙන් සතුටේ දිත් - ශුද්ධ වූ පැය කරමු අපි
පාසලේ දි සැම එක් වී - පසසමු දෙවි සමිඳුන් අපි
ඉරුදින දෙව් මෙහෙයේ දී - කරනා යැදුමන් සැම අපි
**සාමූහික යාච්ඤාව** - ලෙස නම් කරමු //



**යාච්ඤාව**

**ආදර දෙවි පියාණෙනි, පෞද්ගලිකව පමණක් නොව සාමූහිකව ද තමා මෙන් ම අන් අය වෙනුවෙන් ද යාච්ඤා කරන්නට අප යොමු කළ මැනව.**

**ආමෙන්.**



පැවරුම

① පහත සඳහන් අදහස් හරි නම් ✓ ලකුණ ද වැරදි නම් X ලකුණ ද යොදන්න.

i. පවුලේ අය එකමුතු වී ජපමාලය කියමු. ( )

ii. තනිව ම යාච්ඤා කිරීම සාමූහික යාච්ඤාවයි. ( )

iii. අපේ උතුම් ම යාච්ඤාව දිව්‍ය පූජාවයි. ( )

② පාඩමේ සඳහන් කවිවල කියැවෙන ආකාරයට ඔබට පෞද්ගලිකව හා සාමූහිකව යාච්ඤා කළ හැකි අවස්ථා දෙක බැගින් ලියන්න.

③ පාසලේ උදේ රැස්වීම ආරම්භ කිරීම සඳහා සුදුසු කෙටි යාච්ඤාවක් ලියන්න.

**ක්‍රියාකාරකම**

පබළු, බීම බට හා පීත්ත පටි වැනි දේ උදවු කරගෙන ජපමාලයක් නිර්මාණය කරන්න.

# 9 දෙවි පියාණන් වහන්සේ සමග ප්‍රේමයෙන් බැඳෙමු

**කන්‍යා සොහොයුරිය :**

දෙවි පියාණන් වහන්සේ හා අප අතර ඇති සබඳතාව වැඩි වර්ධනය කරගත හැකි යාදුම් කිහිපයක් තිබෙන බව පුතාලා දුවලා අසා තිබෙනවා ද? එම යාදුම් ගැඹුරු යාච්ඤා දිවියකට අප ගෙනයනවා. ඒවාට අප පොදු යාදුම් කියා කියනවා. ශුද්ධ වූ සභාව විසින් සකස් කර දී ඇති මෙම පොදු යාදුම් අපට බෙහෙවින් ම වැදගත් වෙනවා.

එහෙම නම් එම පොදු යාදුම් මොනවා ද කියා අපි බලමු.

- **අපෝස්තුලුවරුන්ගේ විශ්වාස ලක්ෂණය**



අප විශ්වාස කරන ප්‍රධාන කරුණු මෙම යාදුමේ අඩංගු වෙනවා. අපි එය ජපමාලය සමග දිනපතා උච්චාරණය කරමු.

- **දයාධික මනස්තාපය**



මෙය සමගි සන්ධානය නැමැති ප්‍රසාද නිධානය ලබන විට කියන යාදුමකි. දෙවි පියාණන් වහන්සේගේ ආදරයට විරුද්ධව කරන වැරදිවලට සමාව අයදිමින් උච්චාරණය කරන යාච්ඤාව දයාධික මනස්තාප යාච්ඤාව වේ.

- උදය ආරාධනාව



මෙය උදෑසන අවදි වූ විට දෙව්පියාට තුති පිදීමට හා ආරක්ෂාව පැතීමට කියන යාච්ඤාවකි.

- රාත්‍රි ආරාධනාව



මෙය රාත්‍රියේ නින්දට යාමට පෙර දේව ආරක්ෂාවට බාර වෙමින් කියන යැදුමකි.

- තුන් කාල ආරාධනාව



දිනකට තුන්වරක් උදය, දවල්, රාත්‍රි මෙය කියනු ලැබේ.

- පාස්කු කාලයේ තුන් කාල ආරාධනාව



මෙය පාස්කු කාලයේ පමණක් කියන යාච්ඤාවකි.

★ දිනපතා යැදුම් අවස්ථාවන්හි යොදා ගන්නා මෙම පොදු යාච්ඤා භාවිත කරමින් දෙවි පියාණන් වහන්සේට යාච්ඤා කිරීමට ඉගෙන ගන්නා ලෙස දුවලා පුතාලගෙන් ආදරයෙන් ඉල්ලා සිටිනවා.

**ජීවිතයට බිඳක්**

පොදු යැදුම් තුළින් දෙවි පියාණන් වහන්සේ හා අප අතර ඇති සබඳතාව වැඩි වර්ධනය කර ගනිමු.

**පැවරුම**

1. විශ්වාස ලක්ෂණයේ සඳහන් ප්‍රධාන චරිත අනුව ප්‍රහේළිකාව පුරවන්න.




**ක්‍රියාකාරකම**

මෙම පාඩමෙහි අඩංගු සියලු යාච්ඤා කට පාඩම් කරන්න.

උපදෙස් :- 9 වන පාඩමට අදාළ පොදු යාච්ඤා පිටු අංක 82, 83හි ඇමුණුම් අංක 1 යටතේ දක්වා ඇත.

# 10 මැදිහත් වීමයි - විවාහ මංගල උත්සවයයි

දරුවනේ, මම ඔයාලට කියා දෙන්න යන්නෙ ශුද්ධ වූ බයිබලයේ සඳහන් මරිය තුමියගේ මැදිහත් වීමක් ගැනයි.

ගලීලයේ කානා නම් නුවර එක් ගෙදරක විවාහ මංගල්‍යයක් පැවැත්වූවා. ජේසුස් වහන්සේගේ මෑණියන් වන මරිය තුමියත් එම උත්සවයට පැමිණ සිටියා. මරිය තුමිය එම මංගල උත්සවයේ කටයුතුවලට ගොඩක් උදවු කළා. ජේසුස් වහන්සේට සහ එතුමාගේ ගෝලයන්ටත් මංගල උත්සවයට ආරාධනා කර තිබුණා. උත්සවයට සහභාගි වූ සැම දෙනාට ම බීමට මිදියුස මදි වුණා. එහි සිටි මෙහෙකරුවන් හොඳට ම කලබල වුණා. එන අයට බෙදන්න මිදියුස නැති නිසා ඔවුන් අපහසුතාවට පත්වෙලයි සිටියේ. ඒ බව මරිය තුමිය දැන ගත්තා.



10.1 රූපය - මිදියුස ඉවර වී ඇති බව මරිය තුමිය ජේසු තුමාට පැවසීම

ජේසුස් වහන්සේට මේ සිද්ධිය කීවොත් එයට විසඳුමක් ලබා ගත හැකි වෙතියි ඇයට සිතුණා.

මරිය තුමිය විගසින් ජේසුස් වහන්සේ වෙත ගොස් මිදියුස ඉවර වී ඇති බව පැවසුවා. සිදුවීමට යන ලැජ්ජාවෙන් මොවුන් බේරා ගන්න කියා කිවුවා. උන්වහන්සේ මරිය තුමිය දෙසට හැරී **"ඔබත් මාත් මේ ගැන කරදර වෙන්නෙ මන්ද? මගේ මොහොත තව ම පැමිණ නැහැනේ,"** කියා පැවසුවා. මරිය තුමිය මෙහෙකරුවන් අසලට ගොස් ඔවුන් අමතා "ජේසුස් වහන්සේ ඔබට කියන ඕනෑ ම දෙයක් වුව ද කරන්නැ"යි කිවුවා. ඔවුන් සතුටින් එය පිළිගත්තා.



10.2 රූපය - ජේසු සමිඳුන් වතුර පිරවූ ගල් භාජනවලට ආශීර්වාද කිරීම

එතැනට පැමිණි ජේසුස් වහන්සේ එහි තිබූ ගල් භාජන හය වතුරෙන් පුරවන ලෙස සේවකයන්ට පැවසුවා. සේවකයන් ගල් භාජන සියල්ල ම වතුරෙන් පිරෙව්වා. පසුව ජේසුස් වහන්සේ, එම ගල් භාජන ආශීර්වාද කර "දැන් මෙයින් ටිකක් සංවිධායක තැන වෙත ගෙන යන්න," කියා පැවසුවා. සංවිධායක තැන එහි රස බැලුවා. ඔහු පුදුම වුණා. එම මිදියුස ලැබුණ විදිය එයා දැන සිටියේ නැහැ. නමුත් සේවකයින් ඒ ගැන දැනගෙන සිටියා.

සංවිධායක තැන මනාල මහතා වෙත පැමිණ, හොඳ මිදියුස ළඟ තබාගෙන බාල මිදියුසවලින් සංග්‍රහ කළේ මන්දැයි ඔහුගෙන් ඇසුවා. කිසි ම දෙයක් ගැන නොදන්න මනාල මහතා පුදුම වුණා.

ඔහු මේ ගැන සොයා බැලුවා. සිදු වී ඇති සියල්ල ම ඔහුට දැන ගන්න ලැබුණා. වතුර මිදියුස බවට හරවා තියෙන්නේ නාසරතයෙන් පැමිණි ජේසුස් වහන්සේ බව ආරංචි වුණා. ඒ මොහොතේ මරිය තුමිය මැදිහත් නොවන්න ලොකු ලැජ්ජාවක් වෙන්න ඉඩ තිබුණා. එතැන සිටි සියලු දෙනා ම ජේසුස් වහන්සේගේ බලවන්තකම ගැන කතාබහ කළා. පුතාලා දන්නවා ද ජේසුස් වහන්සේ කළ හාස්කම්වලින් පළමු වැන්න තමයි මේ ජලය මිදියුස බවට පත්කිරීමේ සිද්ධිය.

මේ සිදුවීම මගින් මරිය තුමියට අප වෙනුවෙන් මැදිහත් විය හැකි බව හොඳින් පෙනී යනවා.



යාච්ඤාව

ආදර දෙවි පියාණෙනි, පුංචි අපේ ජීවිතවල නොයෙකුත් වුවමනාවන්වල දී අපට ඔබ වහන්සේ වෙත හැරී එන්නට වරම් දුන මැනව. දේව අම්මේ, එසේ කරන්නට අපට කියා දුන මැනව.

ආමෙන්.



පැවරුම

1. ජේසු සමිඳාණන් තම මෑණියන්ගේ ඉල්ලීම ඉටු කිරීමට පෙර පැවසූ ශ්‍රී වචන ලියා දක්වන්න.
2. අන් අයගේ දුක්, කරදරවල දී මරිය තුමිය මෙන් ඔබ ඔවුනට පිහිට වූ අවස්ථාවක් කෙටියෙන් ලියා දක්වන්න.

**ක්‍රියාකාරකම**

1. කානා නුවර මඟුල් ගෙදර ජලය මිදියුස බවට හැරවීමේ ප්‍රාතිහාර්යය රඟ දක්වන්න.

# 11 ජේසුස් වහන්සේගේ අසීමිත කරුණාව

මෙහි ඇති චිත්‍ර දෙස හොඳින් බලන්න. එම චිත්‍ර ඉදිරියෙන් ඇති වාක්‍ය කියවා කතාව ගොඩනගන්න.



1. ජේසුස් වහන්සේ පසු පස මහ සෙනඟක් පැමිණියහ. ජේසුස් වහන්සේ ඔවුන්ට දේව රාජ්‍යය පිළිබඳ ඉගැන්වූ සේක. සුවය අවශ්‍ය අයට සුවය දුන් සේක.



2. රෑ බෝ වූ නිසා මේ මහ සෙනඟට කෑමට යමක් දිය යුතු විය. නමුත් ගෝලයින්ට එය අපහසු කාර්යයක් විය.



3. ජේසුස් වහන්සේ ගෝලයින්ට කතා කොට මේ සෙනඟට දීම සඳහා ඔබ ළඟ කෑම තිබේ දැයි විමසූ සේක. රොටි පහක් සහ මසුන් දෙදෙනකු ඇති ළමයෙකු මෙහි සිටින බව ගෝලයන්ගෙන් කෙනෙක් පැවසී ය.

4. එවිට ජේසුස් වහන්සේ මේ මහ සෙනඟ පනස් දෙනා බැගින් කණ්ඩායම් කරන ලෙස දැන්වූ සේක. ජේසුස් වහන්සේ කුඩා දරුවා දුන් රොටි සහ මසුන් ගෙන ස්වර්ගය දෙස බලා, ආශීර්වාදය පවසා සෙනඟට කෑමට දෙන ලෙස ගෝලයන්ට පැවසූ සේක.





5. මේ සෙනඟ අතර පිරිමි පමණක් පන්දහසක් වූහ. සියලු දෙනා ආහාර ගැනීමෙන් පසු සතුටට පැමිණියහ. ඉතිරි ආහාර කැබලිවලින් කූඩ දොළොසක් පුරවා ගන්නා ලදි.

දුවලා, පුතාලා දන්නව ද ජේසුස් වහන්සේ කළ මේ පුදුම ක්‍රියාව ගැන. ඒ තමයි පන්දහසකට කෑම දීමේ ප්‍රාතිහාර්යය හෙවත් පූප වැඩි කිරීමේ ප්‍රාතිහාර්ය ය. එදා වගේ ම අදත් ජේසුස් වහන්සේ දිව්‍ය සත්ප්‍රසාදය නම් ආදරයේ භෝජනය මගින් අපගේ ආත්මික කුසගින්න නිවන සේක.



ආදර ජේසු සමිඳුනි,

දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ තුළින් සෑම දිනක ඔබ වහන්සේ හමුවීමටත් මා සතු දේ අන් අය සමග බෙදා ගැනීමටත් මා මෙහෙයවුව මැනව.

ආමෙන්.



### පැවරුම

පිළිතුරු ලියන්න.

1. පාඩමේ සඳහන් ආකාරයට ජේසුස් වහන්සේ කළ පුදුම ක්‍රියාව කුමක් ද?
2. හිස්තැනට අදාළ රූප කොටුව තුළ ඇඳ හිස්තැන් පුරවන්න.

   ළමයකු ළඟ තිබුණේ ☐ පහක් සහ ☐ දෙදෙනෙකි.

   පැමිණ සිටි සියලු දෙනා කෑමෙන් පසු ඉතිරි වූ කැබලිවලින් ☐ දොළොසක් පුරවා ගත හැකි විය.

3. ඔබ සවන් දුන් කතාවේ සිටි ළමයා තමා ළඟ තිබූ රොටි පහ සහ මසුන් දෙදෙනා අන් අය වෙනුවෙන් පරිත්‍යාග කළා මෙන් ඔබටත් අන් අය වෙනුවෙන් උදවු කළ හැකි ආකාර **තුනක්** ලියන්න.

### ක්‍රියාකාරකම

පන්දහසකට කෑම දීමේ ප්‍රාතිහාර්යය රඟ දක්වන්න.

# 12 වහල් බවින් නිදහස කරා

සැම ඉරුදින ම සවස ගමේ වෙල් යායේ කෙළවර පිහිටි කඳු පාමුල රැස් වී සතිය තුළ ලැබූ අත්දැකීම් විස්තර කිරීම ගමේ ළමයින්ගේ සිරිතක් විය. මේ අවස්ථාවට ගමේ සීමොන් ආතා ද එක්වෙයි. සීමොන් ආතා පැරණි කතන්දර කීමට ගජ හපනෙකි.

**සසිරු :** ආ... අන්න සීමොන් ආතා එනවා.

**ආතා :** ජේසු පිහිටයි! දරුවනේ, අද ඔයාලා දහම් පාසල් ගියා ද? පුතාලා දිව්‍ය පූජාවටත් ගියා ද?

**උදාර :** ඔව් ආතේ, දිව්‍ය පූජාවේ දී පියතුමා චතාරික කාලය හා ජුදා පාස්කුව ගැන කිවුවා. ආතේ, අපිට ජුදා පාස්කුව ගැන තව ටිකක් විස්තර කියලා දෙන්නකො.

**ආතා :** දරුවනේ, කතෝලික අපේ උතුම් ම මංගල්‍යය තමයි පාස්කු මංගල්‍යය.

**ළමයි :** ඔව් ආතේ, අපි අහලා තියෙනවා.

**ආතා :** දරුවනේ කාලයක් අපේ මුතුන් මිත්තන් වන ඊශ්‍රායෙල්වරුන්ට මිසරය නැමැති රටක වහලුන් ලෙස පාරාවෝ කියා රජ කෙනෙක් යටතේ දුක් විඳින්න සිදුවුණා. ඒ රජතුමා අපේ මුතුන් මිත්තන්ට බොහොම වද දුන්නා; කෑමක් බීමක් නොදී බර වැඩ ගත්තා; කස පහර දුන්නා.

**සසිරු :** අනේ! ඇයි ආතේ, රජතුමා එහෙම කළේ?



12.1 රූපය - පාරාවෝ රජු ඊශ්‍රායෙල් ජනතාවගෙන් බර වැඩ ගැනීම

**ආතා :** පාරාවෝ රජු බය වුණා කවදා හරි ඊශ්‍රායෙල් ජනතාව, මිසර ජනතාවට වඩා වැඩි දියුණු වී තම ජනතාව පාලනය කරයි කියලා. මේ නිසා ඊශ්‍රායෙල් ජනතාවගෙන් බොහෝ වැඩ කරවා ගත්තා. මේ ආකාරයට ඊශ්‍රායෙල් ජනතාව වහලුන් බවට පත්වුණා.

**අජිතා :** අනේ පව්! අපේ මුතුන් මිත්තො බොහෝ ම දුක් විඳලා තියෙනවානේ.

**ආතා :** ඔව් දුව, ඒත් රජතුමා එතුමාගේ පීඩන නතර කළේ නෑ. මේ පීඩා මැද ඊශ්‍රායෙල් ජනතාව දෙවියන් වහන්සේට යාච්ඤා කළා. දෙවියන් වහන්සේ ඔවුන්ට සවන් දුන්නා. ඔවුන් වහන්සේ ඊශ්‍රායෙල් ජනතාව බේරා ගැනීමේ කාර්යය මෝසෙස් තුමාට භාර කළා.

ඔව් දරුවනේ, ඔන්න ඒ රාත්‍රිය උදා වුණා. මෝසෙස් තුමාගේ අණ පරිදි ඊශ්‍රායෙල් ජනතාව තම නිවසෙහි

උළුවස්සේ බැටළු ලෙය සලකුණු කළා. පාරාවෝ රජුගේ මුරණ්ඩුකම නිසා දෙවියන් වහන්සේ මිසර වාසීන්ගේ කුළුඳුල් පිරිමි දරුවන් මරා දැම්මා. ඊශ්‍රායෙල් ජනතාවට කිසි ම හානියක් එදා සිදු වූයේ නැහැ. අවසානයේ පාරාවෝ රජු බිය වී මෝසෙස් තුමාට ජනතාව රැගෙන යෑමට අවසර දුන්නා.

**ළමයි :** එදා ඊශ්‍රායෙල් ජනතාව මොනවා ද කළේ ආතේ?

**ආතා :** මෝසෙස් තුමා බැටළු පැටවාගේ මස් තිත්ත පලා හා නුමුහුන් රොටි සමඟ ඉක්මනින් අනුභව කර ඒ රටින් පිටවී යන ලෙස අණ කළා. ඒ අනුව ඔවුන් මිසරයෙන් පිට ව ගොස් රතු මුහුදින් එතෙර වුණා.



12.2 රූපය - ඊශ්‍රායෙල්වරු පාස්කු භෝජනය අනුභව කිරීම



12.3 රූපය - ඊශ්‍රායෙල් ජනතාව රතු මුහුදින් එතෙර වීම

ඊශ්‍රායෙල් ජනතාව අවුරුදු පතා මේ ජයග්‍රහණය සැමරුවා. ඔවුන් මේ සිද්ධියට ජුදා පාස්කුව යයි නම් කර පරම්පරාවෙන් පරම්පරාවට එය සැමරුවා.

**ළමයි :** ආතේ, ජේසුස් වහන්සේත් මේ ජුදා පාස්කුව සැමරුවා ද?

ආතා : ඔව් දරුවනේ, ජුසේතුමා සහ මරියතුමිය ජේසු සමිඳුවත් ජෙරුසලෙම් දේව මාළිගයට රැගෙන ගොස් මේ පාස්කුව සැමරුවා.

ළමයි : හරි අපූරු සිද්ධියක්නේ. මේ ජුදා පාස්කුව ගැන කියලා දුන්නු ආතාට ස්තුතියි.



**යාච්ඤාව**

**ආදර දෙවි පියාණෙනි, ඔබ වහන්සේ එදා ඊශ්‍රායෙල් ජනතාව වහල්කමින් ගලවා ගත්තාක් මෙන් පුංචි අප ද සියලු උවදුරුවලින් මුදා දහැමි මඟ අප රැගෙන ගිය මැනව.**

**ආමෙන්.**



**පැවරුම**

(1) වරහන් තුළ දී ඇති වචනවලින් සුදුසු වචනය යොදා හිස්තැන් පුරවන්න.

(පාස්කුව, මෝසෙස්, මිසරයේ, පාරාවෝ)

i. ඊශ්‍රායෙල් ජනතාව මුදා ගැනීමේ දී නායකත්වය ගත්තේ ...................... තුමා ය.

ii. ඊශ්‍රායෙල් ජනතාව ...................... වහල්කමට පත්වූහ.

iii. ඊශ්‍රායෙල් ජනතාවට හිරිහැර කළේ ...................... රජතුමා ය.

iv. කතෝලික අපේ උතුම් ම මංගල්‍යය ...................... ය.

(2) ජුදා පාස්කු උත්සවය තුළ පැවැති විශේෂ සිදුවීමක් චිත්‍රයට නඟන්න.

(3) ජුදා පාස්කුව සැමරීම සඳහා ඊශ්‍රායෙල් ජනතාව භාවිත කළ දෑ පාඩමින් සොයා ලියන්න.

# 13 මහ බ්‍රහස්පතින්දා



13.1 රූපය - ජේසු සමිඳුන් ගෝලයින්ගේ පාද සේදීම

දුවේ, පුතේ ඔයාලා අහල තිබෙනව ද මේ පින්තූරයේ තිබෙන විශේෂ සිදුවීම ගැන?

මේ කවි කියවන විට ඔයාලට මතක් වෙයි ඒ විශේෂ දවස. දැන් අපි හැමෝ ම මේ කවි තාලයට ගායනා කරමු.

1. ජේසු සමිඳු ඇරියුම් කර - එක් දිනයක රාත්‍රියේ
   ගෝලයො දොළස ම සමගින් - එක මේසෙක රැස්වූයේ
   අන්තිම රෑ බොජුනට බව - කිසිවෙක් නොම දැන සිටියේ
   මහ බ්‍රහස්පතින්දා ලෙස - එදා තමයි නම් කෙරුවේ

2. නායකයා, සේවකයකු - විය යුතු බව පෙන්වා දෙමින්
ගෝලයන්ගේ පා සෝදා - සිඹ ගත්තේ කිතු සමිඳුන්
මහ බ්‍රහස්පතින්දා දින - එතුමාණන් කළ කී දේ
අද දක්වා සුදු සබයේ - පවතී නොවෙනස්ව මෙසේ

3. ජේසු සමිඳු රොටියක් ගෙන -තුති පුදමින් කැලි කඩා
ගෝල පිරිසෙ සැමට දෙමින් - පැවසූ උතුම් වදන සදා
**"මාගේ මේ ශරීරයයි - ඔබ උදෙසා දෙනු ලබනා**
**මා සිහි කරනා පිණිස ම - මෙය සැම දා සිදු වේවා!"**

4. එලෙස ම භෝජනයෙන් පසු - කුසලානය රැගෙන එදා
නැවතත් තුති පුදමින් තම - ගෝල පිරිස දෙසම බලා
**"මේ මාගේ රුධිරය වේ - ඔබ උදෙසා මා හෙළනා**
**මා සිහි කරනා පිණිස ම - මෙය සැම දා සිදු වේවා!"**

5. දිව්‍ය සත්ප්‍රසාදය නම් - උතුම් නිධානයක් වෙමින්
පූජකවරයයි නම් ලත් - තවත් නිධානයක් ලෙසින්
මහ බ්‍රහස්පතින්දා දින - අන්තිම රෑ බොජුන තුළින්
ස්ථාපිත වූ ප්‍රසාදයේ - නිධානයන් තෑගි ලෙසින්

6. ශාරීරික සුවය සඳහා - කුසට අහර ඇවැසි ලෙසේ
ආත්මික සුවය පතා - හදට අහර ඇවැසි වෙතේ
ප්‍රේමයේ නිධානය වන - සිරි පූපය ලබන ලෙසේ
දිනපතා ම වෙහෙසෙමු අපි - රත්තරන් පුංචි දුවේ පුතේ



### යාච්ඤාව

ආදර ජේසු සමිඳුනි, දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ තුළින් ඔබ වහන්සේ හමුවීමට මම ආසයි. ඒ සඳහා හැකි සැම විට ම දිව්‍ය පූජාවට සහභාගි වීමටත් ඔබ වහන්සේ බැහැදකීමටත් යහපත් කිතුනු දරුවකු වීමටත් මට පිහිට වුව මැනව.

ආමෙන්.



### පැවරුම

① කෙටි පිළිතුරු ලියන්න.

i. ජේසුස් වහන්සේ ගෝලයන්ගේ පාද සේදුවේ කවදා ද?

ii. මහ බ්‍රහස්පතින්දා දින ස්ථාපිත කළ ප්‍රසාද නිධාන දෙක නම් කරන්න.

iii. පාද සේදීමේ දී ජේසුස් වහන්සේ පෙන්වා දුන් උතුම් ගුණාංගයක් ලියන්න.

### ක්‍රියාකාරකම

- ★ බ්‍රිස්ටල්බෝඩ් තීරුවක් කපා ගන්න.
- ★ එහි අන්තිම රාත්‍රි භෝජනයේ දී ජේසු සමිඳුන් පැවසූ උතුම් වදන් ලියන්න.
- ★ එය පන්තියේ ප්‍රදර්ශනය කරන්න.

# 14 ප්‍රේමයේ සමාජයක් ගොඩනගමු



14.1 රූපය - සමිති සමාගම් පෙරහරින් දේවස්ථානයට ඇතුළු වීම

එදා ඉරිදා දවසක්. අපේ මීසම් පවුලේ "සුහද හමුව" පැවැත්වුණේ මීසමේ සියලු දෙනාගේ ම එකමුතුකමින් හා සහයෝගයෙන්. එදින සියලු වැඩ කටයුතු ආරම්භ වූයේ උතුම් වූ දිව්‍ය පූජා යාගය සිදු කිරීමෙන්. දිව්‍ය පූජාව ආරම්භ වීමට ප්‍රථම අප සියලු දෙනා දේවස්ථානයට ඇතුළු වුණේ පෙරහැරින්. මුලින් ම ඇතුළු වූයේ ධර්මදූත ළමා සමාජයේ ළමයිනුයි. ඉන් පසුව පිළිවෙළින් මරිය හමුදාව, තරුණ සමිතිය, ශ්‍රී හෘදය සමිතිය, දේවමාතා නිර්මල හෘදය සමිතිය, දහම් ගුරුවර ගුරුවරියන්, පූජා උදවු සමිතියේ සොයුරන් සමග පියතුමා දේවස්ථානයට ඇතුළු විය.

දිව්‍ය පූජාව ආරම්භ කරමින් පියතුමා කියා සිටියේ මීසම ප්‍රේමයේ සමාජයක් බවයි. මීසම් පවුලක් ලෙස, අප සියලු දෙනා ම එකමුතු කරන ප්‍රේමයේ භෝජනය දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ බවත් පියතුමා පැහැදිලි කර දුන්නා. ඒ වගේ ම මීසම් පවුලක් ලෙස සැම දා ම විශේෂ ගෞරවයකින්, භක්තියකින් සමරන උතුම් භෝජනයත්

දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ බව කියා දුන්නා. එදින දිව්‍ය පූජාවේ දී වෙනදාට වඩා ආදරයකින් මමත් ජේසු සමිඳු ලබා ගත්තා.

දිව්‍ය පූජා යාගය අවසන් වූ පසු අප සියලු දෙනා දේවස්ථාන භූමියේ සූදානම් කර තිබූ සංග්‍රහය සඳහා අසුන් ගත්තා. සෑම පවුලකින් ම රැගෙනවිත් තිබූ ආහාර එකතු කර සෑම දෙනා අතර බෙදා ගත්තා. මේ සංග්‍රහය භුක්ති විඳින අතරේ අපේ මීසමේ පියතුමා විවිධ සමිතිවලින් සූදානම් කර තිබූ තෑගි දිළිඳු පවුල් කිහිපයක් අතර බෙදා දුන්නා. අපේ පවුලේ සෑම දෙනාත් එම තෑගි දීම සඳහා සහභාගි වුණා.



**යාච්ඤාව**

ආදර ජේසු සමිඳුනි, දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ තුළ ඔබ වහන්සේ ජීවමාන බව අත්දකින්නට අද සිට ම මඟ පෙන්නුව මැනව.

ආමෙන්.



**පැවරුම**

1. ඔබේ මීසමේ නම ලියන්න.
2. ඔබේ මීසමේ ඔබට සහභාගි විය හැකි සමිති මොනවා ද?
3. ළමා ධර්මදූත සමාජයට සහභාගි වී ඔබට කළ හැකි යහපත් ක්‍රියා දෙකක් නම් කරන්න.

# 15 ශුද්ධවන්ත ජීවිතයක් ගත කරමු

අම්මා : පුතා... දුව... තේ බොන්න එන්න.

පුතා : අම්මේ, මේ බලන්න අපේ ටීචර්ගේ නම "ළමා ප්‍රදීපය" පත්තරේ තියෙනවා.

දුව : අම්මේ, අපට ආගම උගන්වන්නෙත් ඒ ටීචර් ම තමයි.

අම්මා : කෝ... බලන්න. ආ... ටීචර් පත්තරේට ලිපියක් ලියලා. වටිනා ලිපියක් වගේ. පුතා කියවන්නකො ඒක අපටත් ඇහෙන්න.

පුතා : "ශුද්ධවන්ත ජීවිතයක් ගත කරමු."
දුවේ, පුතේ, දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ කියන්නේ උතුම් ම ප්‍රසාද නිධානයයි. ප්‍රේමයේ ප්‍රසාද නිධානය කියන්නේත් දිව්‍ය සත්ප්‍රසාද නිධානයට මයි. ඉතිං ජේසු සමිඳු හැම දා ම අපට හමුවන්න පුළුවන් හොඳ ම විදිහ තමයි දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ. දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ ලබා ගන්න අප හොඳ සූදානමකින් යන්න ඕනෑ. විශේෂයෙන් නිවැරදි පාපෝච්චාරණයක් කිරීම ඉතා ම වැදගත්. හේතුව අප අතින් දැනුවත්ව හෝ නොදැනුවත්ව නිතර ම වැරදි සිදු වෙනවා. ඒ වගේ ම ජේසු සමිඳු ලබා ගන්න යන විට ඉතා ම ගෞරවයෙන් හා භක්තියෙන් දෑත් එකතු කර වැඳගෙන යන්න ඕනෑ. දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ තුළින් ජේසු සමිඳු අප සමග ජීවමානව වැඩ සිටින බව පිළිගන්න ඕනෑ.

දිව්‍ය පූජය තුළ ජේසු සමිඳු ජීවමානව වැඩ සිටින බව සමහරු විශ්වාස කරන්නේ නැහැ.



15.1 රූපය - දිව්‍ය පූජ්‍යය සහ කුසලානය

මම දුවලා, පුතාලට කියන්න යන්නේ අවිශ්වාසය නිසා සිදු වූ ප්‍රාතිහාර්යයක් පිළිබඳවයි. මෙම ප්‍රාතිහාර්යය සිදු වූයේ 1374 වර්ෂයේ නිරිතදිග නෙදර්ලන්තයේ මිඩ්ල්බර්ග් ප්‍රදේශයේ ය.

දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ ගැන කිසි විශ්වාසයක් නැති, ජෝන් කියලා දඩබ්බර තරුණයෙක් සිටියා. මොහු පාපෝච්චාරණය කළෙත් නැහැ. ඒත් චතාරික කාලයේ එක් ඉරු දිනක මොහු දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ ලබා ගන්නට දිව්‍ය පූජාවට ගියා.

හරි ම පුදුමයක්, ජෝන් ජේසු ලබා ගත් විට එයාට දැනුණා එයාගේ කටේ මස් කෑල්ලක් වැනි දෙයක් තිබෙන බව. ජෝන් කාටත් හොරෙන් දිව්‍ය පූජ්‍යය හැපුවා. ජෝන්ගේ කට පුරා ම ලේ. මේ සිදුවීමත් සමග ජෝන්ගේ ජීවිතය වෙනස් වුණා. ඔහු හොඳට ම ඇඬුවා. පසුව දෙව් මැඳුරේ සිටි හැමෝට ම ඇහෙන්න කෑගහලා පාපෝච්චාරණය කළා. එදා සිට ඔහු යහපත් ජීවිතයක් ගත කළා.

ඉතින් දුවේ, පුතේ, යහපත් ජීවිත ගත කරන්නට අපට හැකි වන්නෙත් වැරදි දේවලින් සහ නපුරු දේවලින් ඈත් වීමට හැකි වන්නෙත්, ඇත්ත කතා කරන්න පුළුවන් වන්නෙත් දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ ලබා ගැනීමෙන් බව ඔබට වැටහෙනවා නේද? ඒ නිසා දිව්‍ය සත්ප්‍රසාද වහන්සේට සැම මොහොතක ම ගෞරව කරන්න, ඔබ සැමට ජේසු පිහිටයි.

**අම්මා :** හරි ම වටිනා ලිපියක්. පුංචි ඔයාලට විතරක් නෙවේ වැඩිහිටි අපටත් වැදගත් කරුණු මේ ලිපියේ තිබෙනවා.



### යාච්ඤාව

**දිව්‍ය සත්ප්‍රසාද ජේසුනි, හැකි සෑම විට ම විශ්වාසයෙන් ඔබ වහන්සේ ලබා ගැනීමට අපට පිහිට වුව මැනව. එමගින් අපේ ජීවිතය ලස්සන කළ මැනව. නපුරු බලවේගවලින් අප ආරක්ෂා කළ මැනව.**

**ආමෙන්.**



### පැවරුම

1. පාඩමේ සඳහන් ළමා කතෝලික පුවත්පත කුමක් ද?
2. දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ අවිශ්වාස කළ තරුණයා කවුද?
3. දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ ලබා ගැනීම සඳහා සූදානම් විය යුතු ආකාර දෙකක් ලියන්න.
4. නපුරෙන් වැළකී යහපත් ජීවිතයක් ගත කිරීමට අවශ්‍ය ශක්තිය ඉල්ලා කුඩා යාච්ඤාවක් ලියන්න.

### ක්‍රියාකාරකම

ඔබට හැකි සෑම විට ම දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ බැහැදකීමට හා ලබා ගැනීමට උනන්දු වන්න.

# 16 දෙවි පියාණන්ගේ ආදරයට ආදරය දක්වමු




16.1 රූපය - සීනයි කඳු මුදුනේ දී මෝසෙස් තුමාට දස පනත දානය කිරීම

දෙවි පියාණන් වහන්සේ අපට ඉමහත් ලෙස ආදරය දක්වනවා. දෙවි පියාණන් වහන්සේට අප ආදරය කළ යුත්තේ කොහොම ද කියලා ඔවුන් වහන්සේ අපට කියලා දුන්නා. දෙවි පියාණන් වහන්සේ තෝරා ගත් ජනතාව ඊශ්‍රායෙල් ජනතාවයි. ඔවුන් මිසරයේ වහල් බවෙන් මුදවා ගෙන කිරියෙන් හා පැණියෙන් පිරුණු දේශයක් කරා ගෙන යන බවට දෙවි පියාණන් වහන්සේ පොරොන්දු වුණා. ඒ සඳහා තෝරා ගත්තේ මෝසෙස් තුමාවයි.

එය එතරම් ලෙහෙසි පහසු ගමනක් නොවේ. මේ ගමනේ දී මේ මහා සෙනඟ දෙවි පියාණන් වහන්සේ අකැමැති දේවල්

කරන්නට පෙළඹුණා. මේ සියලු දේ දුටු දෙවි පියාණන් වහන්සේ මෝසෙස් තුමාට කතා කළා. ඒ වන විට ඔවුන් සිටියේ සීනයි කන්ද පාමුල. මෝසෙස් තුමා කඳු මුදුනට නැංගා. සියලු ජනයා යහපත් ලෙස ජීවත් විය යුතු ආකාරය ලියා ඇති දස පනත අඩංගු ගල් පුවරු දෙක දෙවියන් වහන්සේ ඔහුට දුන්නා. සියලු ජනතාවට මේ පනත් කියා දෙන ලෙස දෙවි පියාණන් වහන්සේ මෝසෙස් තුමාට කිවුවා. මේ තිබෙන්නේ ඒ ගල් පුවරු දෙකයි;




**ගුරුතුමිය:** ඔයාලා දන්නවා ද ඇයි ගල් පුවරු දෙකක දස පනත ලියලා දුන්නේ කියලා?

**ළමයි :** ටීචර්, අපි හරි ආසයි ඒ ගැන දැන ගන්න.

ගුරුතුමිය: පළමු ගල් පුවරුවේ ඇති 1, 2, 3 යන දේව පනත් මඟින් අපට කියා දෙන්නේ සියලු ම දේට වඩා මුළුමනින් ම දෙවි පියාණන් වහන්සේට පමණක් ප්‍රේම කළ යුතු බවයි.

අනෙක් ගල් පුවරුවේ ඇති 4, 5, 6, 7, 8, 9 හා 10 යන දේව පනත්වලින් අපට උගන්වන්නේ, තමාට මෙන් ම අසල් වැසියන්ටත් ප්‍රේම කළ යුතු බවයි. ජේසුස් වහන්සේ ජීවත් වූ කාලයේ පටන් මේ දේව පනත් ප්‍රේමයේ පනත් ලෙස නම් කෙරුණා.

ළමයි : ස්තුතියි ටීචර්, අපට දේව පනත් ගැන කියා දුන්නාට.

ගුරුතුමිය: මේ පනත්වලට අනුව ජීවත් වීම දෙවි පියාණන් වහන්සේගේ කැමැත්තයි. ඒ වගේ ම දෙවි පියාණන් වහන්සේ අපට දක්වන ආදරයට අපිත් ආදරය කරන්න ඕනෑ. ඒ තමයි ප්‍රතිප්‍රේමය. ඉතිං අප ප්‍රතිප්‍රේමය දක්වන්න නම් මේ දස පනත අනුව ජීවත් විය යුතුමයි.



**යාච්ඤාව**

**ආදර දෙවි පියාණෙනි, දේව පනත් අනුගමනය කරමින් අපේ ජීවිත නිවැරදි කර ගන්නටත්, ඒ මගින් අප ජීවත් වන සමාජය යහපත කරා ගෙන යන්නටත් අපට අවශ්‍ය ශුද්ධාත්ම මඟ පෙන්වීම ලබා දුන මැනව.**

**ආමෙන්.**

## පැවරුම

1. පහත කොටු ජාලයේ සැඟවී ඇති දේව පනත් සොයා වෙන් කරන්න. ඒවා අභ්‍යාස පොතේ ලියන්න.

| | | | | | | | | | |
|---|---|---|---|---|---|---|---|---|---|
| අ | පි | හො | ඳ | ළ | ම | යි | න් | වෙ | මු |
| සැ | බෑ | වූ | ඵ | ක | ම | දෙ | වි | ය | න් |
| ව | හ | න් | සේ | ට | ප | ම | ණ | ක් | ව |
| න් | ද | නා | ක | ර | න් | න | | අ | න් |
| අ | ය | ට | උ | ද | වු | ක | ර | මු | |
| බො | රු | සා | ක් | ෂි | නො | කි | ය | න් | න |
| ස | ම | ගි | යෙ | න් | ජී | ව | ත් | වෙ | මු |
| ම | වු | පි | ය | න් | ට | ස | ං | ශ්‍ර | හ |
| ක | ර | න් | න | | | සැ | ම | ට | ම |
| ආ | ද | ර | යෙ | න් | ක | තා | ක | ර | මු |

2. ඉහත කොටු ජාලය තුළ ම යහපත් ජීවිතයක් සඳහා ආදර්ශ ද සපයා ඇත. ඒවා සොයා අභ්‍යාස පොතේ ලියන්න. ඒ අනුව ජීවත් වීමට උත්සාහ කරන්න. උදා :- සමගියෙන් ජීවත් වෙමු.

3. තුන්වන පනත පිළිපැදීමට ඔබට කළ හැකි දේ මොනවා දැයි ගුරුතුමියගෙන් අසා දැන ගන්න.

### ක්‍රියාකාරකම

දස පනත කට පාඩම් කරන්න. ඒ අනුව ජීවත් වන්න.

ශුද්ධෝත්තම පියතුමා ඇතුළු අනෙකුත් පූජක පැවිදි සියලු දෙනා ම ක්‍රිස්තුන් වහන්සේ ඉගැන්වූ ධර්මය හා ජීවිතාදර්ශය ඉදිරියට ගෙන යති; අප ද දේව ආදරය ලබා ගැනීම සඳහා ශුද්ධ වූ සභා නායකයන්ට ගරු කරමින් ආදරයෙන් කටයුතු කළ යුතු ය.

අප රට පාලනය කරන පාලකයින්, වෛද්‍යවරුන්, ගුරුවරුන්, ගොවිමහතුන්, කම්කරුවන් ආදි සැමගෙන් වන සේවය ද මිල කළ නොහැකි ය. ඔවුන්ගේ යුතුකම් සහ වගකීම් හරියාකාරව ඉටුකර ගැනීමට අප සැම උදවු විය යුතු ය.

ජේසුස් වහන්සේගේ ආදරය ලබා ගැනීමට, අන් අයට ලබා දීමට වෙහෙස වී කටයුතු කරන වෙනත් අය ද සිටිති. කිතුනු ඒකක නායක නායිකාවෝ කිතුනු ජනතාව වෙනුවෙන් මැදිහත්ව කටයුතු කරති. ඒ සඳහා දේව වචනය බෙදා ගනිමින් එක්ව යදිමින් පොදු කටයුතුවල දී පියතුමන්ට උදවු වීම සිදු කරති. මේ ආකාරයට අප වෙනුවෙන් විවිධාකාරයෙන් වෙහෙස වන සියල්ලන් උදෙසා අප යාච්ඤා කළ යුතු ය.

කුඩා අපිත් අපගේ හැකියා වැඩි දියුණු කරගනිමින් අන් අයට සේවය කිරීමට කැප වෙමු. ක්‍රිස්තුන් වහන්සේ අනුව දිවි ගෙවන සැබෑ නායකයන් වීමට අපිත් පුරුදු වෙමු.



**යාච්ඤාව**

**ආදර දෙවි පියාණෙනි, මටත් සැබෑ නායකයෙකු ලෙස ඔබ වහන්සේගේ ආදරයට සාක්ෂි දරන්නට වරම් දුන මැනව.**

**ආමෙන්.**

## පැවරුම

1. ඔබගේ මීසම භාර පියතුමා වෙනුවෙන් ඔබට කළ හැකි යුතුකම් දෙකක් ලියන්න.
2. පහත දැක්වෙන තොරතුරු අභ්‍යාස පොතේ පිටපත් කරගෙන විවිධ නායකයන්ට අදාළ සේවාව සොයා යා කරන්න.

| නායකයන් | සේවා |
| --- | --- |
| • පූජක තුමන්ලා | • ජනතාව වෙනුවෙන් යුතුකම් ඉටු කිරීම |
| • රටේ පාලකයින් | • ගුරුතුමියට සහාය දැක්වීම |
| • කිතුනු ඒකක නායකයින් | • දිව්‍ය පූජාව පැවැත්වීම |
| • පන්ති නායකයින් | • යැදුම් මෙහෙයන් සංවිධාන කිරීම |

## ක්‍රියාකාරකම

වත්මන් ශුද්ධතුම් පියතුමා කුඩා දරුවන් කෙරෙහි දක්වන දයා කරුණාව විදහා දැක්වෙන පින්තූර එකතු කර පොත් පිංචක් සාදන්න.

# 18 ජේසු සමිඳුගේ කුඩා තෙරේසා මුනිතුමිය



18.1 රූපය - කුඩා තෙරේසා මුනිතුමිය

- මගේ නම මාරි ෆ්‍රැන්සුවා තෙරෙස් මාටින්.
- මම ඉපදුණේ 1873 ජනවාරි 02 වන දින ප්‍රංශයේ ඇලන්සොන් නගරයේ.
- මගේ පියා ලුවිස් මාටින්. මව සෙලින් ගෙරින්. මට සහෝදර සහෝදරියන් අට දෙනෙකි. මම පවුලේ බාලයා.
- මා කුඩා කාලයේ දී මගේ මව මිය ගියා. වැඩිමහල් සොයුරිය කාර්මේල් නිකායට ඇතුළත්ව පැවිදි ජීවිතය තෝරා ගත්තා.
- මමත් අවුරුදු පහළොවේ දී කාර්මේල් නිකායට ඇතුළත්ව පැවිදි ජීවිතය තෝරා ගත්තා.
- මම ස්වර්ගයට ඇතුළු වුණේ 1897 සැප්තැම්බර් 30 වන දිනයි.

**ජේසුගේ කුඩා මල වීමට මා උත්සාහ කළේ මෙලෙසයි.**

- මා ඉතා කුඩා ක්‍රියා පවා ඉතා සතුටින් හා ආදරයෙන් ඉටු කළා.
- මර්දන ක්‍රියා මඟින් පව්කාර වූ අය ගළවා ගැනීමට මා යාච්ඤා කළා.
- ධර්මදූත කටයුතුවල යෙදෙන පියතුමන්ලා වෙනුවෙන් යාච්ඤා කළා.
- මට වැරදි කළ අයට මා යහපත කළා.
- මා තද බල ලෙස රෝගී වූ විට සිතට ගතට දැනුණ වේදනා සතුටින් දරා ගත්තා.

- මට ක්ෂය රෝගය වැලඳුණා. එහි දී මට බොහෝ වේදනා දැනුණා. ඒත් මම සතුටින් ජීවත් වුණේ ජේසුස් වහන්සේගේ මහත් වූ ආදරය නිසයි.
- මාගේ මෙලොව අවසාන වචන වූයේ - "මාගේ දෙවියනි මම ඔබට බොහෝ සේ ආදරය කරමි" යන්නයි.

★ ඔක්තෝබර් මස 01 වන දින කුඩා තෙරේසා මුනිතුමියගේ මංගල්‍යය සමරනු ලබයි.
★ ධර්මදූත සේවය සඳහා කැපවූවන්ගේ සහ කුඩා ළමුන්ගේ නාම සාන්තුවරිය ඇයයි.



**යාච්ඤාව**

ආදර දෙවි පියාණෙනි, ජේසු සමිඳුගේ කුඩා මලක් වන්නට අපටත් උදවු වුව මැනව. අප කරනා පුංචි ක්‍රියාවක දී පවා ඔබ වහන්සේට විශ්වාසවන්තව, සතුටින් ඒ දේ කරන්නට අපට පිහිට වුව මැනව. කුඩා තෙරේසා මුනිවරියනි, අප නිසා යාච්ඤා කළ මැනව.

ආමෙන්



**පැවරුම**

① වරහන් තුළින් තෝරා හිස්තැන් පුරවන්න.

(පහළොවේ දී, ඇලන්සොන්, කාර්මෙල්, ලුවිස්)

1. කුඩා තෙරේසා මුනිතුමිය ඉපදුණේ .......................... නගරයේ ය.
2. .......................... මාටින්, කුඩා තෙරේසා මුනිතුමියගේ පියා වේ.
3. එතුමිය වයස අවුරුදු .......................... පැවිදි ජීවිතය තෝරා ගත්තා ය.
4. එතුමිය .......................... තාපස නිකායට ඇතුළු වූවා ය.

② (අ) කොටසට ගැළපෙන පිළිතුර (ආ) කොටසින් තෝරා යා කරන්න.

| (අ) | (ආ) |
| --- | --- |
| • තෙරේසා මුනිවරියගේ උපන් දිනය | • අට දෙනෙකි |
| • එතුමියගේ මව | • ක්ෂය රෝගය |
| • පවුලේ සහෝදර සහෝදරියන් | • ඔක්තෝබර් 01 |
| • තෙරේසා තුමියට වැලඳුණේ | • සෙලින් ගෙරින් |
| • මෙතුමියගේ මංගල්‍යය | • ජනවාරි 02 |

**ක්‍රියාකාරකම**

කුඩා තෙරේසා මුනිතුමියගේ ළමා කාලය හා පැවිදි ජීවිතය පිළිබඳ පින්තූර එක බැගින් එකතු කර අභ්‍යාස පොතේ අලවන්න.

# 19 පුංචි දොමිනික් සාවියෝ මුනිතුමා



19.1 රූපය - දොමිනික් සාවියෝ මුනිතුමා

ඉපදුණේ 1842 අප්‍රේල් 02 වන දින

රට : ඉතාලිය
නගරය : මූර්තාන
ගම : මුරිඇල්ඩෝ

පියා : චාල්ස් සාවියෝ
මව : බ්‍රිජට්

පවුලේ පැවති අගහිඟකම් නිසා පාසල් යාමට නොහැකි විය. පාසලත්, ගුරුවරයාත් වූයේ සිය මෑණියන් ය.

පසු කාලීනව ජෝන් බොස්කො පියතුමාගේ මඟ පෙන්වීම යටතේ හැදී වැඩුණේ ය.

ස්වර්ගස්ථ වූයේ 1857 මාර්තු 09 වන දිනයි.

එතුමාගේ මංගල්‍යය මාර්තු 10 වන දින සමරනු ලැබේ.

**පුංචි දොමිනික් සාවියෝ අපට ආදර්ශයක් වූ අයුරු**

- ★ අධික ශීතල, වෙහෙස මහන්සිය නොතකා දිනපතා දිව්‍ය පූජාවට සහභාගි වීම
- ★ දිව්‍ය සත්ප්‍රසාද වහන්සේට හා යාච්ඤාවට විශේෂ ලැදියාවක් දක්වීම
- ★ මරිය තුමිය තමාගේ මව මෙන් සැලකීම හා ආදරය කිරීම
- ★ දුක් වේදනා, කරදර, අගහිඟකම් දරා ගැනීම
- ★ ලද දෙයින් සතුටු වීම
- ★ නිර්මල, අවංක, බැහැපත්, අහිංසක, දරුවෙක් වීම

පුංචි
දොමිනික් සාවියෝ
මුනිතුමා

★ ප්‍රථම වරට දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ ලබන දරුවන්ගේ සාන්තුවරයා වේ.

★ පූජා උදවු දරුවන්ගේ නාම සාන්තුවරයා වේ.



යාච්ඤාව
ආදර දෙවි පියාණෙනි, ශුද්ධ වූ දොමිනික් සාවියෝ මුනිතුමා මෙන් බැහැපත් දරුවකු වීමට මට වරම් දුන මැනව.

ආමෙන්.



පැවරුම

1. හිස්තැනට ගැළපෙන පිළිතුර වරහන් තුළින් තෝරා අභ්‍යාස පොතේ ලියන්න.

(චාල්ස් සාවියෝ, මාර්තු 10, මුරිඇල්ඩෝ, බ්‍රිජට්, ඉතාලිය, මැණියන්)

පුංචි දොමිනික් සාවියෝ ඉපදුණේ(1) ...................... නම් රටේ මූර්තානා නගරයේ (2)....................... නම් ග්‍රාමයේ ය. මෙතුමාගේ පියා (3).............................. වූ අතර මව (4)......................... වූවා ය. දොමිනික් සාවියෝගේ පාසලත්, ගුරුතුමියත් වූයේ තම (5)......................... ය. ශුද්ධ වූ දොමිනික් සාවියෝ මුනිතුමාගේ මංගල්‍යය යෙදී ඇත්තේ (6)........................ වන දිනයි.

2. ශුද්ධ වූ දොමිනික් සාවියෝ මුනිතුමාගේ ජීවිත ගුණාංගවලින් ඔබේ ජීවිතයට එකතු කරගත හැකි ගුණාංග **හතරක්** ලියන්න.

**ක්‍රියාකාරකම**
ළමා ශුද්ධවන්ත ජීවිත කතා සොයා කියවන්න.

# 20 අති උතුම් තෝමස් කාදිනල් කුරේ හිමිපාණෝ

ශ්‍රී ලංකාවේ ප්‍රථම කාදිනල් හිමිපාණන් වූවෝ අති උතුම් තෝමස් කාදිනල් කුරේ හිමිපාණෝ ය. සිරිලකට මහත් සේවයක් කළ මෙතුමා කෙරෙහි දෙවිඳුන්ගේ කැඳවීමේ විවිධ අවස්ථා පිළිවෙළින් හඳුනා ගනිමු.



20.1 රූපය - අති උතුම් තෝමස් කාදිනල් කුරේ හිමිපාණෝ



# එතුමාගේ සේවයෙන් බිඳක්

### මග්ගොන

- ළමා නිවාසය ආරම්භ කිරීම
- කාර්මික විද්‍යාලය ආරම්භ කිරීම

### තේවත්ත

- බැසිලිකා දේවස්ථානය ගොඩනැගීම
- පූජක ඥානකාන්ති නිවාසය ආරම්භ කිරීම

### තම්මිට

ගුරුවරුන් පුහුණු කිරීම සඳහා ධර්මෝපදේශ මධ්‍යස්ථානය ආරම්භ කිරීම

### අධ්‍යාපනය සඳහා

දෙව්සත්හල්වල හා පාසල්වල කතෝලික අධ්‍යාපනය ලබා දීම

### දේව වන්දනා සඳහා

දිව්‍ය පූජාව හෙළ බසට පරිවර්තනය කිරීම

**අති උතුම් තෝමස් කාදිනල් හිමිපාණන්ගේ ජීවිතයෙන් අපට ගත හැකි ආදර්ශ**

- නිහතමානිකම
- දෙවියන්ට අවනත වීම
- දේව විශ්වාසය තුළ යහපත් එඬේරකු ලෙස සේවය කිරීම
- දයා කරුණාවෙන් පව්කරුවන් ගලවා ගැනීම
- දිළිඳුන් වෙත කරුණාව දැක්වීම
- තම සේවය දේව මහිමය උදෙසා කැප කිරීම
- යාච්ඤාවේ ජීවිතයක් ගත කිරීම



**යාච්ඤාව**

**ආදර දෙවි පියාණෙනි, අප වෙනුවෙන් මහඟු සේවයක් කළ අති උතුම් තෝමස් කාදිනල් හිමිපාණන්ගේ ජීවිතය වෙනුවෙන්, ඔබ වහන්සේට තුති පුදමු. එතුමාණන්ගේ ජීවිත ආදර්ශය අනුව දිවි ගෙවන්නට අපට ද වරම් දුන මැනව.**

**ආමෙන්.**



පැවරුම

1. දැහැමි ජීවිතයක් ගත කිරීම සඳහා ඔබට කළ හැකි ක්‍රියා හතරක් ලියා දක්වන්න.
2. ප්‍රථම කාදිනල් හිමිපාණන් විසින් කරන ලද එක් සේවයක් නම් කරන්න.

# 21 මෝසෙස් තුමා

එක්තරා කාලයක මිසර දේශයට අලුත් රජෙක් පත් විය. ඔහුගේ නම පාරාවෝ ය. එම කාලයේ මිසර දේශයේ ම ඊශ්‍රායෙල් ජනතාව ද පදිංචිව සිටියෝ ය. මෙම ඊශ්‍රායෙල් ජනතාව මිසර වාසීන්ට වඩා වැඩියෙන් සිටි බව දුටු පාරාවෝ රජතුමා බිය විය. එබැවින් ඔහු ඊශ්‍රායෙල් ජනතාවට උපදින සියලු පිරිමි දරුවන් නයිල් ගඟට විසිකර දමන ලෙසට අණ කළේ ය. තව ද ඊශ්‍රායෙල් ජනතාවට බර වැඩ කිරීමට ද එතුමා අණ කළේ ය.



21.1 රූපය - මෝසෙස් තුමා

මේ අතර ඊශ්‍රායෙල් ජාතික පවුලක පිරිමි දරුවෙක් ඉපදුණේ ය. ඔවුහු මාස තුනක් පමණ රහසින් දරුවා රැක බලා ගත්තෝ ය. තව දුරටත් එසේ කිරීමට අපහසු වූ බැවින් දරුවා ආරක්ෂා සහිත පන් පෙට්ටියක බහා නයිල් ගඟේ බට පඳුරු අතර සඟවා තබන ලදි. ඒ අවස්ථාවේ නයිල් ගඟට දිය නෑමට පැමිණි රජතුමාගේ දූ කුමරිය මේ පන් පෙට්ටිය දුටුවා ය. ඇය ඒ පෙට්ටිය ඇර බලා ලස්සන පිරිමි දරුවකු බව දැක ඔහු තම දරුවකු මෙන් හදා ගැනීමට රැගෙන ගියා ය. දරුවා ජලයෙන් ගොඩ ගත් නිසා ඔහුට 'මෝසෙස්' යන නාමය තබන ලදි.

මෙසේ රජ වාසල තුළ සියලු සැප සම්පත් සහිතව රජ කුමරකු ලබන සැම ශිල්පයක් ම ඉගෙන ගනිමින් ජීවත් වීමට දෙවියන් වහන්සේ මෝසෙස්ට ඉඩ සැලසූ සේක. ඔහුට දුක් විඳින ජනතාව වෙනුවෙන් මැදිහත් වීමට සිදුවීම නිසා රටින් පලා යාමට සිදුවිය. එසේ පලා ගොස් මිදියන් දේශයේ පදිංචි විය. එහි දී තම මාමණ්ඩියගේ බැටළු පට්ටිය රැක බලා ගනිමින් සිටිය දී නොදැවෙන ගිනි පඳුරක් ආකාරයෙන් දෙවියන් වහන්සේ මෝසෙස්ට දර්ශනය විය.


21.2 රූපය - මෝසෙස්ට දෙවියන් වහන්සේ දර්ශනය වීම

නැවත මිසරයට ගොස් පාරාවෝ රජුගේ වහල්කමින් ඊශ්‍රායෙල් ජනතාව පොරොන්දු දේශය කරා ගෙන යන ලෙස දෙවියන් වහන්සේ මෝසෙස්ට අණ කළ සේක. එහෙත් පාරාවෝ රජු තම හිත දැඩි කර ගෙන ඊශ්‍රායෙල් ජනතාවට පිටව යාමට ඉඩ නොදුන්නේ ය. එම නිසා දෙවියන් වහන්සේ ඊශ්‍රායෙල් ජනතාව මුදා ගැනීම සඳහා මිසර වාසීන් වෙත වසංගත එවීමට සැලැස්වූහ.

**වසංගත දහය**

1. වතුර ලේ වීම
2. මැඩි උවදුර
3. කිනිතුලු උවදුර
4. මැසි උවදුර
5. ගව සම්පත වැනසීම
6. ගඩු උවදුර
7. ගල් වර්ෂා උවදුර
8. පළඟැටි උවදුර
9. ගනඳුරු උවදුර
10. කුළුඳුලන් මැරීම

පසුව මෝසෙස් තුමා අවංකව කැපවීමෙන් හා දේව කරුණාවෙන් ඊශ්‍රායෙල් ජනතාව මුදා ගෙන පොරොන්දු දේශය කරා ගෙන ගියේ ය. ඒ නිසා මෝසෙස් තුමා ඊශ්‍රායෙල් ජනතාවගේ වීරයකු ලෙස සැලකේ.

### මෝසෙස් තුමාගේ ගුණාංග

- ★ දෙවියන් වහන්සේ කෙරෙහි විශ්වාසය
- ★ දෙවියන් වහන්සේට දක්වූ කීකරුකම
- ★ එඩිතරකම
- ★ ජනතාවට දක්වූ අනුකම්පාව හා ආදරය
- ★ ඉවසීම



යාච්ඤාව

ආදර දෙවි පියාණෙනි, මෝසෙස් තුමා මෙන් අවංකව හා එඩිතරව මට පැවරෙන වගකීම් ඉටු කිරීමට මා උනන්දු කළ මැනව.

ආමෙන්.



පැවරුම

① (අ) කොටසට ගැළපෙන පිළිතුර (ආ) කොටසින් තෝරා යා කරන්න.

| (අ) | (ආ) |
|---|---|
| ● මෝසෙස් යන නාමයේ අර්ථය | ● මැඩි උවදුර |
| ● පාරාවෝ රජු ඊශ්‍රායෙල් ජනතාවට | ● ජලයෙන් ගොඩගත් |
| ● දෙවියන් වහන්සේ මෝසෙස්ට කතා කළේ | ● පීඩා කළේ ය |
| ● මිසර වැසියන්ට පැමිණි වසංගතයකි | ● ගිනි පඳුරක් මගිනි |

② දෙවියන් වහන්සේ මිසර වාසීන් වෙත එවූ වසංගත **පහක්** ලියන්න.

# 22 සාමුවෙල් දිවැස්ප්‍රසාදි තුමා


22.1 රූපය - සාමුවෙල්ගේ කැඳවීම

**පොතේ ගුරු :** තව ද එක් කාලයක
රජවරු නැති යුගයක
එප්‍රායිම් කඳු රටේ
එල්කානා නම් මිනිසෙක් විය.

හන්නා නම් වූ ඔහුගේ බිරිය
ඉතා දැහැමි ස්ත්‍රියක් වූවා ය.
දරුවන් නොමැති නිසා ඔවුහු
දෙවියන් ඉදිරියේ නිති පතා
යාච්ඤා කළෝ ය.

නොකඩවා කළ යාච්ඤා එල ගැන්වී
ඇයට පුතෙක් ඉපදුණේ ය.
ඈ තම පුතුට

"සමිඳාණන් වහන්සේගෙන් ඉල්ලා
ගත් බැවින්" යන තේරුම ඇතිව
"සාමුවෙල්" යන නම තැබුවා ය.

සාමුවෙල් තම මව
දෙවියන් ඉදිරියේ වූ පොරොන්දුව මත
ඒලී නම් පූජකයා ළඟ
මෙසේ හැදී වැඩුණේ ය.

(සමිඳාණන් වහන්සේගේ ශුද්ධාසනය ඉදිරියේ සාමුවෙල් නිදා සිටියි. පහන දල්වෙයි)

දේව හඬ : සාමුවෙල්, සාමුවෙල්.

සාමුවෙල්: (ඒලී පූජකයා ළඟට ගොස්) මම මෙහි ය. ඔබ මට අඬ ගැසුවෙහි ද?

ඒලී පූජකයා : මම හඬ නොගැසීමි. ඔබ ගොස් නිදා ගන්න.

දේව හඬ :(සාමුවෙල් යළි නිදා ගනියි. සාමුවෙල්ට යළිත් හඬ ඇසෙයි) සාමුවෙල්, සාමුවෙල්.

සාමුවෙල්: (ඒලී පූජකයා ළඟට නැවතත් ගොස්) ඇත්තට ම ඔබ මට අඬ ගැසුවෙහි ද? මෙන්න මා මෙහි ය.

ඒලී පූජකයා : මාගේ පුත්‍රය, මම අඬ නොගැසීමි. නැවත නිදා ගන්න.

(සාමුවෙල් යළි නිඳයි. යළිත් සාමුවෙල් යන හඬ ඇසේ. සාමුවෙල් අවදි වී ඒලී පූජකයා අසලට දිව යයි)

සාමුවෙල් :ඔබ මට කතා කළෙහි ද? මෙන්න මා මෙහි ය.

**ඒලී පූජකයා** : (ඇත්තට ම දෙවියන් වහන්සේ ළමයාට හඬ ගසනවා විය හැකියි...... තමාට ම කියා ගනියි) ඔබ ගොස් නිදා ගන්න. ඔබට නැවත අඬ ගැසුවොත් "සමිඳාණන් වහන්ස, කතා කළ මැනව. ඔබ වහන්සේගේ මෙහෙකරුවා සවන් දී සිටිනවා" යැයි කියන්න.

(නැවතත් සාමුවෙල්, සාමුවෙල් යැයි හඬ ඇසේ)

**සාමුවෙල්:** සමිඳාණන් වහන්ස, කතා කළ මැනව. ඔබ වහන්සේගේ මෙහෙකරුවා සවන් දී සිටිනවා.

මෙලෙස දෙවියන් වහන්සේගේ සේවයට සාමුවෙල් කැඳවන ලදි. නිතර නිතර දෙවියන් වහන්සේ කතා කරමින් තම ජනතාව යහමග යැවීමට ඔහුට මග පෙන්වූ සේක.

මෙසේ සාමුවෙල් දිවැසිවරයා මෙන් කුඩා කල සිට ම අපිත් දේව හඬට අවනත වෙමු. යාච්ඤා කර දෙව්පියා සමග සම්බන්ධ වෙමු. කරදර, බාධක මැද විශ්වාසයෙන් ජීවත් වෙමු.



**යාච්ඤාව**

**ආදර දෙව් සමිඳුනි, සාමුවෙල් දිවැස්ප්‍රසාදි තුමා මෙන් දේව හඬ තේරුම් ගැනීමටත් අන් අය දේව හඬට සවන් දීමට යොමු කිරීමටත් මට උදවු වුව මැනව.**

**ආමෙන්.**

## පැවරුම

(1) හිස්තැනට සුදුසු වචන පාඩමින් තෝරා ලියන්න.

සමිඳාණන් වහන්ස, කතා කළ මැනව. ______________ මෙහෙකරුවා ______________ දී ______________”

(2) පහත ප්‍රහේළිකාව පුරවන්න.




**හරහට**

1. කුඩා කාලයේ ම දෙවියන් වහන්සේ විසින් තෝරාගනු ලැබූ දිවැසිවරයෙකි.
3. සාමුවෙල්ගේ මව

**පහළට**

2. සාමුවෙල්ගේ පියා

(3) සාමුවෙල් දිවැසිවරයා මෙන් ඔබටත් අන් අය වෙනුවෙන් මැදිහත් වීමට වරම් ඉල්ලා යැදුමක් ලියන්න.

(4) සාමුවෙල්ගේ කැඳවීම චිත්‍රයට නඟන්න.

# 23 දිවැසිවර එලියා

## මගේ නම එලියා

මම දෙවියන් වහන්සේට ප්‍රේම කළා.




23.1 රූපය - එලියා දිවැසිවරයා

මම දේව හඬට සවන් දුන්නා. එක ම දෙවිඳුන් වෙත ජනතාව යොමු කළා.

එදා ඊශ්‍රායෙල් ජනතාව පාලනය කළේ ආහබ් කියලා රජ කෙනෙක්. ඔහු හරි ම දරුණු ලෙස තමයි රට පාලනය කළේ. ඔහු සමිඳාණන් වහන්සේ ඉදිරියේ නපුරු දේ කළා. ජනතාව දෙවි සමිඳාණන්ගෙන් ඈත් කරවීමට ක්‍රියා කළා. මෙවැනි කාලයක තමයි දෙවියන් වහන්සේගේ දිවැසිවර සේවාවට මා තෝරගත්තේ. ආහබ් රජුගේ අයහපත් ක්‍රියා කලාපය නිසා මා දෙවියන් වහන්සේගේ අණ පරිදි නියඟයක් ඇති වීමට සැලැස්වූවා.

දෙවියන් වහන්සේ වදාළ ලෙස මම ඒ කාලයේ කෙරිත් නම් ඔය ළඟ සැඟව සිටියා. මම වතුර බීවේ එම ඔයෙන්. මට ආහාරවලින් කිසි අඩුවක් තිබුණේ නැහැ. දෙවියන් වහන්සේගේ අණ පරිදි කපුටන් මට උදය සහ සවස් කාලයේ කෑමට රොටි සහ මස් දුන්නා.



23.2 රූපය - කපුටන් මගින් එලියා දිවැසිවරයාට ආහාර ලබා දීම

එහෙත් ටික දවසක් යන විට වැස්ස නැති නිසා ඔය සිඳී ගියා. නැවතත් සමිඳාණන් වහන්සේ වදාළ පරිදි එතැනින් පිටත්ව ශාරෙපත් නගරයට ගොස් ජීවත් වුණා.

එහි දී ද සමිඳාණන් වහන්සේගේ අණට කීකරු වී වැන්දඹු ස්ත්‍රියක් ඇයට සහ ඇගේ පුත්‍රයාට කන්නට තිබූ අන්තිම පිටි ටිකෙන් සෑදූ රොටි ද බීමට වතුර ද ගෙනත් දුන්නා. සමිඳාණන් වහන්සේගේ අණට කීකරු වූ නිසා එම ස්ත්‍රියගේ පිටි බඳුන නියඟය ඉවර වන තෙක් අඩු වූයේ නැහැ.

ටික දවසක් යන විට එම වැන්දඹු ස්ත්‍රියගේ පුතා හොඳට ම රෝගාතුර වී හුස්ම ගැනීම නතර වුණා. මම දෙවියන් වහන්සේට කන්නලවු කරමින් යාච්ඤා කළා. මගේ හඬට උන්වහන්සේ සවන් දුන්නා. වැන්දඹු ස්ත්‍රියගේ පුතාට නැවත ජීවිතය ලබා දුන්නා.



23.3 රූපය - කාර්මෙල් කන්ද මත පූජාවක් ඔප්පු කිරීම

මේ කාලය අතර තුර ආහබ් රජ සහ ජනතාව දෙවිඳුන් වෙතට යොමු කිරීමේ වුවමනාව මට තදින් ම දැනුණා. ඒ නිසා මම ආහබ් රජ හමුවීමට ගියා. ඔහු විසින් කරන ලද අයහපත් දේවල් ගැන කියා දුන්නා.

තව ද ඊශ්‍රායෙල් සෙනඟට සැබෑ දෙවියන් කවුරුන් දැයි ඔප්පු කිරීමට කාර්මෙල් කන්ද මත පූජාවක් සූදානම් කළා. එහි දී වූ සිදු වීමෙන් පසු අපගේ දෙවි සමිඳාණන් වහන්සේ සැබෑ වූ එක ම දෙවියන් වහන්සේ ම බව ජනතාව පිළිගත්තා. ඔවුන් නැවත සිත් හරවා ගත්තා. නියඟය ද කෙළවර වුණා. දෙවියන් වහන්සේ හා ජනතාව අතර දුරස් වූ සබඳතාව නැවත ගොඩනැඟුණා.

පැවරුම

(1) පාඩමෙන් සොයා කෙටි පිළිතුරු සපයන්න.

i. ඊශ්‍රායෙල් ජනතාව පාලනය කළ රජු කවුද?

ii. එලියා සැඟව සිටියේ කිනම් ඔය ළඟ ද?

iii. එලියා දෙවියන් වහන්සේට පූජාවක් ඔප්පු කළේ කුමන කන්දේ දී ද?

iv. නියඟය පැවති කාලයේ දී එලියාට ලැබුණු ආහාර මොනවා ද?

v. එලියා විසින් නියඟයක් ඇති වීමට සැලැස්වූයේ ඇයි?

(2) එලියා දිවැසිවරයා මෙන් දෙවියන් වහන්සේ අදහාගෙන ඒ අනුව කටයුතු කිරීමට අවශ්‍ය වරම් පතා කුඩා යාච්ඤාවක් ලියන්න.

# 24 රජ වූ එඬේර ළමයා

නිල් තණ ගොල්ලේ මා සතපන්නේ
සමිඳු එඬේරාණෝ
ආදර මුවිනේ වදන් සමන් මල්
මා හද පුබුදු කෙරේ//

දෑස ම නොපියා නොනිඳා සමිඳා
පා ලිස්සීමට නොමදෙයි කිසිදා//
ගලවයි නපුරෙන් යන එන මඟ මා
පැතුම් හැමට මඟ ඔබ ඉටු දෙවිඳා//

ඉහතින් දක්වෙන්නේ දාවිත් රජතුමා දෙවියන් වහන්සේගෙන් අත්දුටු ආදරය හා මඟ පෙන්වීම පිළිබඳ ලියැවුණු ගීතයකි. එහිදී දෙවියන් වහන්සේ තම යහපත් එඬේරාණන් ලෙස විස්තර කරයි.



24.1 රූපය - දාවිත් බැටළුවන් බලා ගැනීම

දාවිත් රජතුමාගේ පියා ජෙස්සේ විය. දාවිත්, රජ වීමට පෙර බැටළුවන් බලා ගන්නා එඬේරෙක් විය. ඔහු තම බැටළුවන්ට කරදරයක් වීමට ඉඩ නොදී ආරක්ෂා කර ගත්තේ ය. එමෙන් ම ඔහු දක්ෂ වීණා වාදකයෙක් ද විය.



24.2 රූපය - වීණා වාදනය කරන දාවිත්

එවකට රජ කළ සාවුල් රජු දෙවියන් වහන්සේගේ අණ පරිදි ජීවත් නොවී ය. ඒ නිසා දිනක් දෙවියන් වහන්සේ සාමුවෙල් නම් දිවැසිවරයාට කතා කොට ඊශ්‍රායෙල් ජනතාව පාලනය කිරීමට අලුත් රජෙකු පත් කරන්නැයි පැවසූ සේක. ඒ සඳහා දෙවියන් වහන්සේගේ සැලැස්ම අනුව සාමුවෙල් විසින් ජෙස්සේගේ පුත්‍රයෝ කැඳවන ලදහ. ඔවුන් අතරින් බාලයා වන දාවිත් දෙවියන් වහන්සේගේ කැමැත්ත පරිදි සහෝදරයන් සියලු දෙනා ඉදිරියේ රජු ලෙස අභිෂේක කරන ලදි.



24.3 රූපය - සාමුවෙල් විසින් දාවිත් අභිෂේක කරනු ලැබීම

## දාවිත් රජතුමාගේ යහපත් ක්‍රියා

★ සැම විට ම දෙවියන් වහන්සේ කෙරේ විශ්වාසය තැබීම; දේව ගරු බිය දැක්වීම
★ වෙනත් දෙවිවරුන්ට වන්දනා නොකිරීම
★ තමාට පෙර සිටි සාවුල් රජුට තිබූ අසනීපය මිහිරි වීණා වාදනයෙන් සුව කිරීම
★ තමාට වැරදි කළ අයට සමාව දීම හා තම වැරදි ගැන අවංකව දුක් වීම



**යාච්ඤාව**

**දෙවියන් වහන්සේ කෙරෙහි විශ්වාසය තබා කටයුතු කිරීමටත් අපගේ දක්ෂතාවලින් අන් අයට සේවය කිරීමටත් අපට අවශ්‍ය වරම් දානය කළ මැනව.**

**ආමෙන්.**



## පැවරුම

① පහත සඳහන් ඡේදයේ හිස්තැන්වලට අදාළ වචන වරහන තුළින් තෝරා ලියන්න.

(වීණා, සාමුවෙල්, ජෙස්සේ, එඬේරෙක්)

i. රජ වීමට පෙර දාවිත් .......................... විය.

ii. දාවිත් රජෙකු ලෙස අභිෂේක කරනු ලැබුවේ ............................ විසින් ය.

iii. දාවිත් දක්ෂ ......................... වාදකයෙකි.

iv. දාවිත්ගේ පියා .............................. විය.

② දාවිත් රජතුමාගේ කතාවේ සිත්ගත් අවස්ථාවක් චිත්‍රයට නගන්න.

# 25 ශුද්ධ වූ පේදුරු තුමා

## පේදුරු තුමාගේ කැඳවීම

ජේසුස් වහන්සේ ගෙනසෙරත් විල අසල සිටි සේක. විල අයිනේ ඔරු දෙකක් විය. ධීවරයෝ ඔවුන්ගේ දැල් සෝදමින් සිටියහ.



ජේසුස් වහන්සේ සීමොන් පේදුරුගේ ඔරුවට නැග සමූහයාට දේශනා කරති








ජේසුතුමන් අනුව යමින් පේදුරු තුමා උන්වහන්සේට කීකරු වී උන්වහන්සේ අනුව ගියේ ය. ඒ අනුව ජේසුස් වහන්සේගේ පළමු අපෝස්තුලුවරයා වීමේ භාග්‍යය ලැබිණි.

### තුන් ප්‍රකාර භාරය

ජේසුස් වහන්සේ මළවුන්ගෙන් උත්ථාන වූ පසු ශ්‍රාවකයන්ට දර්ශනය වූ සේක. එසේ දර්ශනය වූ එක් අවස්ථාවක දී පේදුරු තුමාගෙන් එක ම ආකාරයේ ප්‍රශ්න තුනක් අසනු ලැබී ය. එයට දුන් පිළිතුර අනුව පේදුරු තුමාට ජේසුස් වහන්සේ වගකීම් තුනක් පවරන ලදි. එය තුන් ප්‍රකාර භාරය ලෙස ශුද්ධ වූ බයිබලයේ දැක්වේ. (ජුවාම් 21:15-17)

**ජේසුස් වහන්සේ පළමු වර කතා කරමින්**

| | | |
|---|---|---|
| ජේසුස් වහන්සේ | : | ජොහන්ගේ පුත්‍ර වූ සීමොන්, මොවුන්ට වඩා ඔබ මට ප්‍රේම කරන්නෙහි ද? |
| පේදුරු | : | එසේ ය, ස්වාමීනි, මා ඔබට ප්‍රේම කරන බව ඔබ දන්නා සේක. |
| ජේසුස් වහන්සේ | : | මාගේ බැටළු පැටවුන් පෝෂණය කරන්න. |

**ජේසුස් වහන්සේ දෙවන වර කතා කරමින්**

| | | |
|---|---|---|
| ජේසුස් වහන්සේ | : | ජොහන්ගේ පුත්‍ර වූ සීමොන්, ඔබ මට ප්‍රේම කරන්නෙහි ද? |
| පේදුරු | : | එසේ ය, ස්වාමීනි, මා ඔබට ප්‍රේම කරන බව ඔබ දන්නා සේක. |
| ජේසුස් වහන්සේ | : | මාගේ බැටළුවන්ගේ එඬේරා වන්න. |

ජේසුස් වහන්සේ තුන්වන වර කතා කරමින්

ජේසුස් වහන්සේ : ජොහන්ගේ පුත්‍ර වූ සීමොන් ඔබ මට ප්‍රේම කරන්නෙහි ද?

පේදුරු : ස්වාමීනි ඔබ සියල්ල දන්නා සේක. මා ඔබ වහන්සේට ප්‍රේම කරන බව ඔබ වහන්සේ දන්නා සේක.

ජේසුස් වහන්සේ : මාගේ බැටළුවන් පෝෂණය කරන්න.

පේදුරු තුමා ජේසු සමිඳුන්ට ආදරය කළ නිසා ශුද්ධ වූ සභාවේ නායකයා විය. අපි ද ජේසු සමිඳුන්ගේ සැබෑ ගෝලයන් වීමට නම් එතුමන්ට අපේ මුළු හදවතින් ම ආදරය කරමු.

අපිත් අපගේ පවුල තුළ හා පාසල තුළ අපට පැවරී ඇති වගකීම් ආශාවෙන් ඉටු කරමු. එම වගකීම් අවංකව ම ඉටු කිරීමට ශක්තිය ලබා දෙන දෙවිඳුන්ට ස්තුති ප්‍රශංසා කරමු.





යාච්ඤාව

ආදර දෙවි පියාණෙනි, පේදුරු තුමා මෙන් මා හටත් කිතුනු නායකයකු වීමට කැඳවීමක් දුන් නිසා ඔබ වහන්සේට ස්තුතියි. හොඳ නායකයකු ලෙස අන් සියලු දෙනාට ම ආදරයෙන් සේවය කිරීමට පුංචි මටත් ඔබ වහන්සේගේ වරම් දුන මැනව.

ආමෙන්.



පැවරුම

① පහත වැකි කවුරුන් විසින් කා හට කියන ලද්දේ ද?

i. "මසුන් අල්ලන පිණිස ගැඹුරට ගොස් දැල් හෙළන්න."

ii. "ස්වාමීනි, මා වෙතින් ඉවත් වුව මැනව. මම පව්කාරයෙක්මි."

iii. "සීමොන් ඔබ මට ප්‍රේම කරන්නෙහි ද?"

② පහත ඇති වගුවෙහි අනවශ්‍ය අකුරු කපා සැඟවී ඇති වැකිය තෝරා ලියන්න.

| | | | | | | | | | | | | | |
|---|---|---|---|---|---|---|---|---|---|---|---|---|---|
| මා | අ | ගේ | අ | බැ | අ | ට | අ | ළු | අ | ව | අ | න් | අ |

| | | | | | | | | | | | | | |
|---|---|---|---|---|---|---|---|---|---|---|---|---|---|
| පෝ | අ | ෂ | අ | ණ | අ | ය | අ | ක | අ | ර | අ | න් | අ |

| | |
|---|---|
| න | අ |

③ පවුල හා පාසල තුළ ඔබ හොඳ නායකයකු ලෙස ක්‍රියා කරන ආකාරය වගු ගත කරන්න.

| පවුල | පාසල |
|---|---|
| 1.<br>2.<br>3. | |

ක්‍රියාකාරකමක්

- පේදුරු තුමාගේ තුන් ප්‍රකාර භාරය අඩංගු පෝස්ටරයක් නිර්මාණය කර ප්‍රදර්ශනය කරන්න.

## අපෝස්තුලුවරුන්ගේ විශ්වාස ලක්ෂණය

අහස පොළොව මැවූ සර්ව බලධාරී වූ පිතාවන දෙවියන් කෙරෙහි ද ඔහුගේ ඒක පුත්‍ර වූ අපගේ ස්වාමී වූ ජේසුස් ක්‍රිස්තුන් කෙරෙහි ද විශ්වාස කරමි. ඔවුන් වහන්සේ ස්ප්‍රිතු සාන්තු විසින් ගැබ වැස, කන්‍යා මරියතුමියගෙන් උපන්නාහ. පොන්සියෝ පිලාත් හට යටහත්ව වද විඳ කුරුසියේ ඇණ ගැසුම්කා උකුත් වී තැන්පත් කරන ලද්දාහ. පාතාලයට බැස තුන් වැනි දා මළවුන් කෙරෙන් උත්ථාන කර වදාරා, පරමණ්ඩලවලට නැගී සියලු බලැති වූ දෙව් පියාණන්ගේ දකුණු පාර්ශ්වයෙහි වැඩ සිටින්නාහ. එහි සිට ජීවතුන්ටත් මළවුන්ටත් නඩු වදාරන්ට වඩින්නේ ම ය. ස්ප්‍රිතු සාන්තු කෙරෙහි ද සාධාරණ සාන්ත සභාවේ ද, සාන්තුවරුන්ගේ සමෝස ධර්මලාභයෙහි ද පාප ක්ෂමාවෙහි ද මාංශ උත්ථානයෙහි ද අනන්ත ජීවිතයෙහි ද විශ්වාස කරමි. ආමෙන්.

## දයාධික මනස්තාපය

මාගේ දෙවියනි, මම ඔබ වහන්සේට අනදර කළ නිසා බොහෝ සේ වික්ෂෝප වෙමි. මාගේ පාපවලින් මා සදාකාල නිරාගින්නට හිමි වූ හෙයින් ද මාගේ දයාබර ජේසුස් ක්‍රිස්තුස් ස්වාමි දරුවන් කුරුසයේ ඇණ ගැසූ හෙයින් ද විශේෂ කොට සර්ව දයා යහපත්කම් ඇත්තා වූ ඔබට අනදර කළ හෙයින් ද සියලු දේට වඩා ඒවාට වෛර කරමි. මා කළ සියලු පාපවලට මාගේ මුළු හෘදයෙන් ක්ෂමාව ඉල්ලමි. ඔබ වහන්සේගේ පිහිටෙන් මින් මතු පව් නොකර සිටින්නටත් පාප ප්‍රස්තාවලින් වැළකී සිටින්නටත් ඒකාන්තයෙන් ම පොරොන්දු වෙමි. ආමෙන්.

## උදය ආරාධනාව

සියලු දේ මවා පාලනය කරන දෙවියනි, ඔබගේ කරුණා අදහසින් මා ලැබූ උපකාර රාශිය උදෙසා ද විශේෂයෙන් පසුගිය රාත්‍රියේ මා නසින්නට ඉඩ නොදී ආරක්ෂා කළ නිසා ද අනේක වරක් ඔබට ස්තුති කරමි. ඔබගේ අණ පනත් ශේෂයක්වත් නොවරදවා මේ දවස ගත කරන ලෙස පොරොන්දු වී මාගේ කල්පනා වචන හා ක්‍රියා සියල්ල ම ඔබට ස්තෝත්‍ර කොට පුදමි. එසේ හෙයින් මාගේ ගතට හා ප්‍රාණයට යම් විපතක් නොයෙදී ඔබගේ කැමැත්ත පරිදි ධර්මයෙන් පැවත මා මෝක්ෂ සුගතියට සුදුස්සෙකු වන පිණිස කරුණාකර වදාළ මැනව. ආමෙන්.

## රාත්‍රි ආරාධනාව

මනුෂ්‍යයන් නිදහස් කොට ගැලෙව්වාවූ ජේසුස් ස්වාමිදරුවෙනි, අද දවසේ මා විසින් කළ සියලු වැරදි ක්ෂමා කරවා, මේ රාත්‍රියේ සදි මරණයෙන් මා නොනැසි, නපුරු ස්වප්න ආදි වූ යක්ෂ පරීක්ෂාවලට මා අසු නොවී මාගේ ගතට හා ප්‍රාණයටත් කිසි අපහසුවක් නැතුව නැගී සිට, ඔබට ස්තෝත්‍ර කියන සැටියට කරුණාකර වදාළ මැනව. ආමෙන්.

## තුන් කාලයේ ආරාධනාව

මෙහෙයවන්නා:

ස්වාමීන්ගේ දූතයා මරියතුමියට සැළකළේ ය.

පිළිතුර. එවිට ස්ප්‍රීතු සාන්තු විසින් ගර්භණී වූවා ය. (නමෝ මරිය) ....

මෙ.ව. මේ මම ස්වාමීන් වහන්සේගේ දාසීමි.

පිළි. ඔබ කී වචනය ලෙස මට සිදුවේවා. (නමෝ මරිය) .......

මෙ.ව. වචනය තෙම ද මාංශ වුණේ ය.

පිළි. අප සමග ද වාසය කළේ ය. (නමෝ මරිය) .......

මෙ.ව. ක්‍රිස්තු තුමන්ගේ වාක්දාතවලට අප හේතුවන්ත වන ලෙස,

පිළි. කන්‍යා ශුද්ධ වූ දේව මාතාවෙනි, අප නිසා යාච්ඤා කළ මැනව.

**යාච්ඤා කරම්හ**

ස්වාමීනී, සුරදූතයා සැලකළ වචනයෙන් ඔබගේ පුත්‍ර වූ ක්‍රිස්තු තුමන්ගේ මනුෂ්‍යයා වීම දැනගත්තා වූ මේ අපි, එතුමන්ගේ දුක් ප්‍රාප්තිය හා කුරුසිය උදෙසා මෝක්ෂ ප්‍රතාප මහිමතාවෙන් මාංශෝත්ථානය ලබන ලෙස, අපගේ ආත්ම ඔබගේ කරුණා ප්‍රසාදයට හේතු යුක්ත කොට වදාළ මැනව.
මේ කී දේ අපේ ස්වාමී වූ ජේසුස් ක්‍රිස්තුන් උදෙසා ම ලැබේවා! ආමෙන්. (ත්‍රිත්ව ස්තෝත්‍රය තුන් වරක් උච්චාරණය කරන්න.)

## පාස්කු කාලයේ තුන් කාල ආරාධනාව (ආලේලුයියා සෙනසුරාදා සිට ශුද්ධාත්ම මංගල්‍ය දින දක්වා)

★ පරලොක රාජේශ්වරිනි. ආනන්ද සන්තෝෂ වේවා
ආලේලුයියා.
● ඒ කිම්දයත් ඔබගේ ශ්‍රී කුසයෙහි වාසය කරන්නට අභිප්‍රාය කළ තෙම. ආලේලුයියා.
★ තමන් වහන්සේ පෙර වදළ ප්‍රකාරයෙන් නැඟී වදළ සේක.
ආලේලුයියා.
★ කන්‍යා මරිය තුමියනි ආනන්ද සන්තෝෂ වේවා.
ආලේලුයියා.
★ ඒ කිම්දයත් ස්වාමි දරුවෝ සැබැවින් ම නැගී වදාළ සේක.
ආලේලුයියා.

**යාච්ඤා කරම්හ**

සර්වේශ්වර වූ දෙවියනි, ඔබගේ පුත්‍ර වූ ක්‍රිස්තු තුමන්ගේ මාංශෝත්ථානයෙන් ලෝකය සන්තෝෂ කරන්නට කරුණා අභිප්‍රාය කර වදාළ වේ ද? ඔවුන් වහන්සේගේ මාතාවන් වන කන්‍යා මරිය තුමිය උදෙසා අපට අනන්ත කාල සතුටු සිත් දෙවා වදාළ මැනව.
මේ කී දේ අපේ ස්වාමි වූ ජේසුස් ක්‍රිස්තුන් උදෙසා ම ලැබේවා! ආමෙන්. (ත්‍රිත්ව ස්තෝත්‍රය තුන් වරක් උච්චාරණය කරන්න)

3.1, 10.1, 10.2, 12.1, 12.2, 12.3, 13.1, 15.1, 16.1, 18.1, 19.1, 20.1, 21.1, 21.2, 22.1, 23.1, 23.2, 23.3 යන රූප සටහන් සහ 9 වන පාඩමේ පස්වන රූප සටහන අන්තර්ජාලය ඇසුරින් ලබා ගන්නා ලදි.